බුද්ධජයන්තීත්‍රිපිටකග්‍රන්ථමාලා: 44.




# අභිධර්මපිටකයෙහි

## පස්වන ග්‍රන්ථය

# කථාවස්තුප්‍රකරණය

## ප්‍රථම භාගය

ලංකා බෞද්ධමණ්ඩලයේ ආරාධනයෙන්

අහංගම විද්‍යාචන්ද්‍ර පරිවේණාධිපති
**පණ්ඩිත කෝදාගොඩ ඤාණාලෝක**
නායක ස්ථවිරයන් වහන්සේ
විසින් කරන ලද

සිංහල පරිවර්තනයෙන් යුක්ත යි.

ලංකා ආණ්ඩුව මඟින් ප්‍රකාශිත යි.

---

බු. ව. 2511
ක්‍රි. ව. 1967

Buddha Jayanthi Tripitaka Series, Volume Xliv

THE FIFTH BOOK

IN

THE ABHIDHARMAPITAKA

# KATHAVASTUPRAKARANA

PART 1

WITH THE SINHALA TRANSLATION

BY

THE VENERABLE

PANDITA KODAGODA ÑAÑALOKA THERO

CHIEF HIGH PRIEST OF SOUTHERN CEYLON,
PRINCIPAL, VIDYACHANDRA PIRIVENA, AHANGAMA.

PUBLISHED UNDER THE PATRONAGE

OF

THE GOVERNMENT OF CEYLON

BE 2511
CE 1967

අභිධම්මපිටකෙ

# කථාවත්ථුප්පකරණං

පඨමො භාගො

අභිධර්මපිටකයෙහි

# කථාවස්තුප්‍රකරණය

ප්‍රථම භාගය

“තථාගතප්පවෙදිතො භික්ඛවෙ ධම්මවිනයො විවටො විරොචති නො පටිච්ඡන්නො”

“මහණෙනි, තථාගතයන් වහන්සේ විසින් දෙශනා කරණ ලද ධර්මය හා විනය විවෘත වූයේ බබලයි. වැසුනේ නො බබලයි.”

(අඞ්ගුත්තරනිකාය, තිකනිපාත - හරණ්ඩුවග්ග, 9 සූත්‍රය.)

# පටුන

## CONTENTS

# සංස්කාරක නිවේදනය

අභිධර්මපිටකයෙහි පස්වන ග්‍රන්ථය වූ කථාවස්තුප්‍රකරණයෙහි ප්‍රථමභාගය බුද්ධජයන්ති ත්‍රිපිටකග්‍රන්ථමාලාවෙහි සුසාලිස් වන ග්‍රන්ථයයි. **බුද්ධජයන්ති** අනුස්මරණ පිළිබඳ කර්තව්‍යසංවිධානය සඳහා ලංකාණ්ඩුවෙන් පත්කරණලද **ලංකා බෞද්ධමණ්ඩලය** විසින් ආරාධිත වූ අහංගම **විද්‍යාචන්ද්‍ර** පරිවෙණාධිපති, දක්ෂිණලංකාවෙහි ප්‍රධාන සංඝනායක පණ්ඩිතාචාර්ය **කෝදාගොඩ ඤාණාලෝක** මහාස්ථවිරයන්වහන්සේ කථාවස්තුප්‍රකරණපාළිය සිංහල භාෂාවට නගාලූහ.

ධර්මශාස්ත්‍රයෙහි හා පාළි - සංස්කෘත - සිංහල භාෂාවිෂයෙහි නිපුණවූ "සාහිත්‍ය සරස්වතී" පණ්ඩිත ඤාණාලෝක ස්ථවිරයන්වහන්සේ, ග්‍රන්ථ-ව්‍යාඛ්‍යානයෙහි ලා පූර්වාචාර්යවරයන් ගත් මග අනුගමනය කරමින් අක්ෂර-පදව්‍යඤ්ජනසම්පත් හා ගම්භීරාර්ථ උදාවනසේ ග්‍රන්ථගෞරවයට හා සිංහල සාහිත්‍ය පොෂණයට හිත වූ ශ්‍රැතිරම්‍ය වචනසන්නිවේශයෙන් මේතාක් සියබසට නොපත් **කථාවස්තුප්‍රකරණය** පළමුවරට සියබසට නගාලීමෙන් තමන් වහන්සේගේ නාමය ලක්දිව ශාසනවංශකථා සමග ඉතිහාසගත කළහ.

උන්වහන්සේගේ හිතමිත්‍ර ධීගුණයුත් පණ්ඩිත **ලබුගම ලංකානන්ද** නායක ස්ථවිරයන් වහන්සේ විසින් ලියා තිබෙන සංඥාපනයෙන් කථාවස්තු-ප්‍රකරණය පිළිබඳ ඉතිහාසය ද, ග්‍රන්ථතත්ත්වය හා එහි වාදමාර්ගීය ද, අභිනව සිංහලපරිවර්තනයෙහි අගය ද මැනැවින් පහළ කොට ඇත.

මේ අධිකාරයෙහි අග්ගමහාපණ්ඩිත **බලන්ගොඩ ආනන්දමෛත්‍රෙය** මහානායක ස්ථවිරයන්වහන්සේගෙන් ද උපදෙස් ලැබී ඇත. ග්‍රන්ථය මුද්‍රණයට සකස් කිරීමෙහි දී ත්‍රිපිටකපරිවර්තනකාරකමණ්ඩලයෙහි සාමාජික කාර්යක්ෂම පණ්ඩිත **කරහම්පිටිගොඩ සුමනසාර** ස්ථවිරයන්වහන්සේගෙන් ලැබී තිබෙන උපකාරය අතිශයින් පැසසිය යුතුය. පෙළ හා පරිවර්තනය යෙදෙන ප්‍රමාණයට සරිලනසේ කොටස් තුනකට බෙදා පරිහරණයට ද පහසුවන පරිදි මුද්‍රණය කිරීමට සම්මත වූ කථාවස්තුප්‍රකරණයෙහි ප්‍රථමභාගය අපගේ අවසාන සංස්කරණයෙන් මෙසේ මුද්‍රණයට පමුණුවාලීම මහත් ම භාග්‍යයෙකි. මෙහි ද්විතීය භාගය ද දැනට මුද්‍රණයෙහි පවත්නේ වේ.

සංසාරදුඃඛයාගේ අනුත්පාදනිරෝධය වූ නිර්වාණය සාක්ෂාත් කිරීමට බාධක වූ සත්කායදෘෂ්ටිය ප්‍රභව කොට ඇති පුද්ගලවාදය (=සචේතනික-අචේතනික හැම වස්තුවෙක්හි ම පැතිර පවත්නා ඉන්ද්‍රියවිෂය නො වූ ස්වයංභූත සර්වබලධාරී ශාශ්වත සුඛස්වරූප ආත්මයෙක් ඇතැයි මායාමෝහ-නයෙන් ගන්නා අර්ථශූන්‍ය සංකල්පය) කථාවස්තුප්‍රකරණයෙන් ඛණ්ඩනය කොට ඇත.

මේ මිථ්‍යාසංකල්පය නිසා සත්ත්වයා සසරදුකෙහි බැඳී නිර්වාණාධිගමය නොලබන බව අවබෝධ කොටගත් මහාකාරුණික බුදුරජාණන් වහන්සේ පඤ්චස්කන්ධ - ද්වාදශායතන - අෂ්ටාදශධාතු - ද්වාවිංශතීන්ද්‍රිය යන ධර්මපුඤ්ජ-යන්ගේ සත්පණස් අවයව **ධර්මධාතු** (හෙතුඵලනියාම) වශයෙන් විභාග කොට දක්වමින් **විභජ්ජවාදය** (අභිධර්මය) දෙශනාකරමින් ප්‍රාකෘතක (ලෞකික) ජනයා විසින් පඤ්චස්කන්ධාදිය සත්ත්ව, පුද්ගල, ආත්ම වශයෙන් එකත්වයක් සේ ගැණීම වූ **එකාංසවාදය** හෙවත් **සතිසඤ්ඤාව** මිථ්‍යාවක් බව ප්‍රකාශ කොට වදාළසේක.

පුද්ගල (ආත්ම) වාදාදි වශයෙන් එකල පැවැති මිථ්‍යාමත බුදුරජාණන් වහන්සේ වදාළ විභජ්ජවාදය අනුව මැඩලමින්, එසේ ම මතු ඇතිවන කුතාර්කිකයන් විසින් බුද්ධධර්මය සම්බන්ධයෙන් නැගිය හෙන මතාන්තර ද මැඩලීමට කරුණු දක්වමින් **මොග්ගලිපුත්තතිස්ස** මහරහතුන් වහන්සේ විසින් සැටදහසක් පමණ වූ සඟුන්මැද **කථාවත්ථුප්‍රකරණය** 'විභාග' යන අර්ථ ඇති **ප්‍රකරණ** නාමයෙන් ම විභාවනා කරණ ලද්දේය.

එබැවින් මේ අභිධර්ම ග්‍රන්ථය ද මිථ්‍යාදෘෂ්ටිවිනිවේඨනයෙන් සත්‍යඥාන උද්භාවනයෙන් තථාගතප්‍රවිදිත නිර්වාණාධිගමයට ප්‍රණීත වූ මාර්ගයක් බව නිවන් පසක් කරණු කැමැති සැදැහැවතුන් විසින් සැලකිය යුතු වේ. **ලඞ්කාණ්ඩුව** මගින් මහාජන මුදලෙන් මේ පාළිග්‍රන්ථය ඉතිහාසයෙහි පළමුවරට අපගේ සිංහල භාෂාවට පරිවර්තනය කරවා මුද්‍රණයට පැමිණ වීමෙන් ජනිත වන ධර්මදානමය පුණ්‍ය මහිමයෙන් මේ අධිකාරයට සම්බන්ධ මුද්‍රණ ශිල්පීන් ඇතුළු සියල්ලෝ ම **නිදුක් වෙත්වා! සුවපත් වෙත්වා! නිවන් දකිත්වා!** යනු අපගේ ආශංසනය යි.

**පරවාහැර වජිරඤාණ.**
ත්‍රිපිටකපරිවර්තන කාරකසභාවෙහි ද
සංස්කාරකමණ්ඩලයෙහි ද සම්පාදක.

බුද්ධවර්ෂ 2511.
ත්‍රිපිටක කාර්යාලය,
174, සිරිවජිරඤාණ මාවත,
කොළඹ 9.

# පරිවර්තක නිවේදනය

සුවිනෝ ගෙවා දත් අප බුදුරජාණන් වහන්සේ පන්සාලිස්වසක් කෘතයුග-මහාමෙඝයක් සෙයින් සිට දහම්වහරෙ වස්වනුවන් අනාගතයෙහි සද්ධර්ම ප්‍රතිරූපක උපදනා පරිදි දක්වමින් මහසුප් මහරහත්හට **සද්ධම්මපතිරූපක** සුත් දෙසා, දෙශනාධර්මය පරීක්ෂා කොට ගතමනාසෙ දක්වමින් සඟනට **මහාපදෙස** සුත් දෙසා, සස්නට වන භය දක්වමින් **අනාගතභය** සුත් දෙසා, අනාගතාරක්ෂා පිණිසැ මං පහයා තබා පිරිනිවි පසු, **දහම්සෝ** සක්විති මහරජාණන් දවස තුන්වන සාහස්‍රිකධර්මසඞ්ගායනායෙහි සඞ්ඝස්ථවිර වැ සිටි **මොග්ගලිපුත්තතිස්ස** මහතෙරණුවන් මහාසඞ්ඝිකාදි සප්තදශනිකායවාසීන් තත්තත්සූත්‍රපදයෙහි අර්ථ වරදවා ගෙනැ දුර්ලබ්ධි උද්භාවනා කරනසෙ දැකැ, දෙව්ලොවැ අබිදම් දෙසමින් බුදුන් දුන් නය ගෙනැ පරවාද මර්දනය පිණිසැ සඟමැද දෙසූ **කථාවත්ථුප්පකරණය** සඞ්ගීතියට නැඟීමෙන් පසු ථෙරියනිකායවාසීන් වාචනාමාර්ගයෙන් ගෙනැ ආසෙ මැ අද ද අප අතර පවත්තේ වෙයි.

අභිධර්මපිටකයෙහි සප්තප්‍රකරණයට ඇතුළත් කොට ප්‍රකරණනාමයෙන් තැබූ එ කථාවත්ථුප්පකරණය ගෙවුණු දෙවාදහස් දෙසිය පන්සැටෙහිදු සියබසට නො නැඟුණේය. **බුද්ධජයන්ති** සංවිධානය සඳහා ලඞ්කාණ්ඩුව විසින් පිහිටුවන ලද **ලඞ්කා බෞද්ධ මණ්ඩලය** විසින් ඒ ප්‍රකරණය සියබසට නංවා තැබීමෙහි කාර්‍යභාරය අප වෙත දක්වා දෙනලදි. අපිදු මතු සඳහන් කරන පඬිවරුන්ගේ වහල් ද ලැබැගෙනැ තෙල දුෂ්කරකාර්‍යයෙහි ව්‍යාපෘත වූම්හ.

අපගේ ප්‍රිය ශිෂ්‍ය වන අහංගම **විඥානචන්ද්‍ර** පිරිවෙන්හි ආචාර්‍ය, ශාස්ත්‍රවේදී **පාතේගම මංගල** ස්ථවිරයෝ ද, අපගේ ශිෂ්‍ය රාජකීය පණ්ඩිත, ශාස්ත්‍රපති **ඩබ්ලිව්.ඒ.ජේ. විතාරණ** (ඇම්. ඒ.) මහතා ද මෙහිලා සහාය වූවන් අතුරෙහි පළමු මැ සඳහන් කළයුතු වෙති. විතාරණ මහතා අර්ථව්‍යාඛ්‍යානයෙහි දී බෙහෙවින් වෙහෙස දැරූ බව වෙසෙසින් කියැයුතු වෙයි. මුද්‍රණය පිණිස දෙවනවර අත්ලිපි සකස් කිරීමෙහි දී වර්තමානයෙහි විද්වජ්ජනයාගේ ආදර-ගෞරවයට පාත්‍ර වූ මොල්ලිගොඩ **ප්‍රවචනෝදය** පිරිවෙන්හි උපප්‍රධානාචාර්‍ය, අපට කල්‍යාණමිත්‍ර වැ සිටුනා පණ්ඩිතාචාර්‍ය **ලබුගම ලඞ්කානන්ද** සඞ්ඝනායක ස්ථවිරයන් වහන්සේ ද, ධර්මවිනය ශබ්දශාස්ත්‍ර තර්කන්‍යායාදියෙහි ප්‍රවීණ පණ්ඩිතරත්නයක් වන **කරගම්පිටිගොඩ සුමනසාර** ස්ථවිරයන් වහන්සේ ද බෙහෙවින් වහල් වූහ. **ලඞ්කානන්ද** සඞ්ඝනායකස්ථවිරයන් වහන්සේ අර්ථව්‍යාඛ්‍යානයෙහි විෂමස්ථාන සකස්කිරීමෙහි ද, **සුමනසාර** ස්ථවිරයන් වහන්සේ ග්‍රන්ථාගත පුච්ඡා - විස්සජ්ජනා සකස් කිරීමෙහි ද, පාඨසංසන්දනා හා වාක්‍යච්ඡේද වෙන් කිරීමෙහි ද බෙහෙවින් උපකාරී වූහ.

පොත් සපයාදීමෙහි ලා මාතර **ශ්‍රී සුදර්ශී**පරිවෙණාධිපති, පණ්ඩිතාචාර්‍ය **කඩවැද්දුව සිරිනිවාස** සඞ්ඝනායකස්ථවිරයන් වහන්සේ ද, අහංගම එළකැටියේ බිම්බාරාමාධිපති වැ සිටි **අහංගම පඤ්ඤාවංස** මහාස්ථවිරයන් වහන්සේ ද, ශ්‍රීමත් **හේම එච්. බස්නායක** මැතිතුමා ද කළ අනුග්‍රහය කෘතඥතායෙන් සඳහන් කළයුතු වෙයි.

මෙහි සියලු දුර්ඝටස්ථාන සුඝට කිරීමෙහි ද ප්‍රණීතාර්ථ එළවාලීමෙහි ද එළිය දුන්නාහු නම්: විද්‍යෝදය විශ්වවිද්‍යාලයෙහි **සම්මාන උපකුලපති** ත්‍රිපිටකවාගීශ්වරාචාර්ය මහෝපාධ්‍යාය, දර්ශන විශාරද අතිගෞරවාර්හ **පරවාහැර සිරිවජිරඤාණ** කොළඹ නවකෝරළයේ ප්‍රධාන සඞ්ඝනායක මාහිමියන් වහන්සේ වෙති. උන්වහන්සේගේ නැණපහස නොහුන් තැනෙක් මෙහි නැත.

ග්‍රන්ථය පිළිබඳ යම් යම් වැදගත් කරුණු ගෙනැ සාකච්ඡා කිරීමෙහි දී විසිරගිය යශෝඝෝෂා ඇති අග්‍රමහාපණ්ඩිත **බලන්ගොඩ ආනන්දමෛත්‍රෙය** මහානායකස්ථවිරයන් වහන්සේ ද සහභාගී වැ සිටිබව කියම්හ.

අපගේ ආචාර්යෝත්තම විද්‍යාචන්ද්‍රපිරිවෙන්හි අධ්‍යක්ෂ, **කීර්ති** ශ්‍රී වාගීශ්වර **පරදූව සිරි ජිනරතනාභිධාන** තල්පේපත්තුව ඇතුළු මාතරදිශායෙහි ප්‍රධානසඞ්ඝනායකමහාස්ථවිරයන් වහන්සේ නන් අයුරින් තෙල කෘතියෙහිලා අපට ධෛර්ය දුන් බව ද, ත්‍රිපිටක කාර්යමණ්ඩලයෙහි නියුක්ත, දෙරගමුයෙහි පණ්ඩිත **ධම්මපාල** ස්ථවිරයන් වහන්සේ මෙහි මහත් ආදරයෙන් හිතකර ව ක්‍රියා කළබව ද අවසානවශයෙන් සඳහන් කරම්හ.

**කෝදාගොඩ ඤාණාලෝකස්ථවිර.**

විද්‍යාචන්ද්‍රපිරිවෙන,
අහංගම.
දෙසැම්බර්, 1967.

# සංඥාපනය

## කථාවස්තු සංලක්ෂණය

**සඞ්ගීති:**

ශ්‍රී ශාක්‍යමුනි තථාගත සම්මාසම්බුදුරජාණන් වහන්සේ බුදු වැ සව්නේ ගෙවා දැන පන්සාලිස් වසක් මුළුල්ලෙහි චාතුර්ද්වීපික මහාමෙඝයක් සෙයින් සිව්සස් දහම් අමාවැසි වස්වා සසුන් පිහිටුවා අපමණ සත්ත්වහිත සම්පාදනය කොට නිරුපධිශෙෂ පරිනිර්වාණධාතුයෙන් පිරිනිවන් පෑ කල්හි, ශාසනභාරධාරී වූ **මහාකාශ්‍යප** මහාස්ථවිරප්‍රමුඛ පන්සියක් මහරහතුන් වහන්සේ විසින් **අජාසත්** මහරජු සහාය කොටගෙන ධම්විනය සඞ්ඛ්‍යාත ශාසනය සඞ්ග්‍රහ කොට වදාරන ලද්දේ ය. මේ **ප්‍රථම සඞ්ගීතිය** මහාකාශ්‍යප ආනන්ද උපාලි ආදි සම්මුඛශ්‍රාවක මහතෙරවරුන් විසින් පැවැත් වූ හෙයින් **ථෙරිකා** (ථෙරිකා) යී ද, පන්සියක් මැ වූ මහරහතුන් විසින් සඞ්ගීත වූ හෙයින් **පඤ්චසතිකා** යී ද ශාසන ඉතිහාසයෙහි පළට විය. ඒ ථෙරිය-සඞ්ගීතිය පිළිගත් ආචාර්‍ය්‍යවංශය **ථෙරවාද** නම් වී.

බුදුන් පිරිනිවි සියක් හවුරුදු ඉක්මැගිය සඳ වැදූරට මහණහු විශාලායෙහි දී විනයානුලොමික නො වූ සිඞ්ගිලොණකප්පාදි දශවස්තූන් පරිහරණය භික්ෂූනට කැප යයි ඇරැදූක්වූහ. ඒ අසා **කාකණ්ඩ** නම් බ්‍රාහමණපුත්‍ර ආයුෂ්මත් **යශ** මහාස්ථවිරයන් වහන්සේ, සොරෙය්‍යවාසී **රෙවත**, සාණවාසී **සම්භූත**, විසාලා වැසි **සබ්බකාමි** යන මහතෙරවරුන් ප්‍රමුඛ කොටගෙන, ඒ දශවස්තූන් මැඩැපියා, දෙලොස් දහසක් පමණ භික්ෂූන් අතුරෙන් තෙවලාධර සිව්පිළිසිඹියා පත් සත්සියක් මහතෙරවරුන් නඟාගෙන, **ශුශුනාග පුත්‍ර කාලාශොක** රජහු සහාය කොටගෙන, **දෙවන සඞ්ගීතිය** කළහ. එය සත්සියක් මහතෙරුන් විසින් කරන ලද නුයි **සතසතිකා** නම් වී.

ප්‍රථම සඞ්ගීතියෙහි මහතෙරුන් ධම් විනය විසින් පිටක විසින් නිකාය විසින් යම් සඞ්ග්‍රහයෙක් කරන ලද ද, වග්ග පණ්ණාස නිපාත පකරණ ඛන්ධකාදි යම් විභාගයෙකුත් කරන ලද ද, මෙ දෙවන සඞ්ගීතියෙහි ද එ හැම එලෙසින් සඞ්ගායනා කරන ලද්දේ ය. එහි කියැයුතු විශෙෂයෙක් ද ඇති: පළමුවන ධම්සඞ්ගායනාවෙන් පසු වැ බුදුන් වදාළ ධම්න්‍යායෙහි මැ සිට **මහාකච්චායන, උදෙන** ආදි මහතෙරවරුන් දෙසූ **මධුර, ඝොටමුඛ** ආදි සූත්‍ර කෙනකුන් හා විනයෙහි පඤ්චසතිකක්ඛන්ධකය ද දෙවන සඞ්ගීති-යෙහි දී සඞ්ගායනාවට නඟාලූහ.

බුද්ධභාෂිත වූ ධම් විනය එලෙසින් නො පිළිගත් හෙයින් ඒ ධම් විනය සඞ්ග්‍රාහක මහතෙරුන් විසින් නිගන්නා ලද දසදහසක් පමණ **වජ්ජිපුත්තක** භික්ෂූහු පක්ෂ සොයන්නාහු විශාලායෙහි අවකාශ නො ලැබ, කෞශාම්බියට ගොස් තමනට අනුරූප මතධාරී දුර්වල පක්ෂ ලැබ, **මහාසංඝිකා** යයි වෙන ම ඇදුරොලක් ඇති කළහ. ඔහු එක් වැ ගෙන ධම්සඞ්ගීතියකුදු කළහ. එ **මහාසඞ්ගීති** නම් වී. අධම්වාදී මහාසඞ්ගීති-කාරකයෝ බුදුසසුන විලොම කළහ. මහසුප් ආදි මහතෙරුන් කළ මූලසඞ්ග්‍රහය බිඳ, එයට වෙනස් වූ ධම්සඞ්ග්‍රහයක් කළහ. එක් තැනෙක

සඞ්ගෘහීත වූ සූත්‍රය එයින් අන් තැනෙක තැබූහ. විනයෙහි ද පස්මහ-සඞ්යෙහි ද පෙළ හා අරුත් හා බිඳලූහ. පර්‍ය්‍යාය නිෂ්පර්‍ය්‍යාය දේශිතය ද නෙය්‍යාර්ථ නීතාර්ථ සූත්‍රය ද නො දැන ව්‍යඤ්ජනච්ඡායායෙන් අරුත් ගෙන යථාර්ථය නසාපූහ. විනය හා සූත්‍ර හා එක් දෙසක් හැරපියා තමනට අභිමතයක් එයට එක් කොට සූත්‍රවිනයප්‍රතිරූපයක් කළහ. පරිවාර අර්ථොද්ධාර සඞ්ඛ්‍යාත පදභාජනිය, අභිධම් ෂට්ප්‍රකරණය, ප්‍රතිසංවිත්මාර්ගී, නිර්දේශ, ජාතක එකදෙශයක් ද හැරදීහ. නාම, ශ්‍රමණලිඞ්ග, ශ්‍රමණපරිෂ්කාර, ශ්‍රමණආකල්ප යන මේ ද වෙනස් කළහ. මේ දක්වූයේ මහාසාඞ්ඝිකයන්ගේ සඞ්ගීතිය ගෙන **දීපවංශයෙහි** එන වාර්තා යි.

ඒ අනුව ඔවුන්ගේ මහාසඞ්ගීතිය විමසා බැලුව මනා යැ:

1. බුදුන් පිරිනිවි සාරසිය සූපනස් (454) වසක් ඉක්මැයන තුරු පෙළ-දහම පොතපතෙහි නො ලියැවිණ. ඇදුරු මුඛයෙන් ම මුඛපාඨ-වශයෙන් උගතයුතු ව තුබූ තෙවළා පර්‍ය්‍යාප්ත කොට පුහුණු කළ එක ද භික්‍ෂු කෙනෙක් දසදහසක් **වජ්ජිපුත්තකයන්** කෙරෙහි නො වූහ.

2. මහාසාඞ්ඝික නිකායිකයනට නිශ්‍රයාචාර්‍ය්‍ය වූවෝ **රේවත** මහ-තෙරණුවන්ගේ අතැවැසි උපස්ථායක ව සිටි විසිවස් ඇති **උත්තර** නම් ස්ථවිර කෙනෙකි. හෙ ද උපාධ්‍යායයන් වහන්සේ සමීපයෙහි ත්‍රිපිටක ධර්මය හදුරා නිමැවූයේ හෝ ශාසනයෙහි ලද ප්‍රතිෂ්ඨා ඇතියේ හෝ නො වේ.

3. ඔවුන් නිශ්‍රයාචාර්‍ය්‍ය කොට ගත් ඒ උත්තර නම් මහණ ආමිෂලාභ-යෙන් පෙලැබුණේ අධර්මසමාදාන හෙතුයෙන් ස්වකීය උපාධ්‍යායයන් වහන්සේ විසින් නෙරපා හරින ලදුයේ ද වෙයි. (**සත්ත-සතිකක්ඛන්ධකය** විමසන්න.)

4. ඔවුන්ගේ සඞ්ගීතියෙහි පළමු කොට මැ ස්ථවිර භික්‍ෂූන් විසින් ‘අධර්ම යැ අවිනයැ’යි ප්‍රතික්‍ෂෙප කළ ‘සිඞ්ගිලොණකප්පාදි’ දශවස්තුව ඇතුළු විය.

5. ආචාර්‍ය්‍යමුඛයෙන් ලත් උද්ග්‍රහණයෙහි අපරිපූර්ණ බව හෙතු කොට-ගෙන ඔවුනට විෂය නො වූ පරිවාර පටිසම්භිදා නිද්දෙස ආදිය උන්ගේ සඞ්ගීතියෙහි සඞ්ගෘහීත නො වී ය.

6. ඇදුරුපරපුරින් ගෙන එන ලද ත්‍රිපිටක අර්ථකථා මාර්ගය හෝ ආචාර්‍ය්‍යවාද හෝ ඔවුනට නො වී ය.

7. ස්ථවිර භික්‍ෂූන් කෙරෙහි කළ අසහනයෙන් මැඩීගිය ඔවුනට සඞ්ගීතියක ආවශ්‍යකතාව නම් ස්ථවිරවාදීනට පිළිමල් ව සිටීම වියැ.

මේ ආදි කරුණු විමසත් මැ මහාසාඞ්ඝිකවාදීන්ගේ මහා-සඞ්ගීතිය අපරිශුද්ධ වූවක් බව කියැයුතු ය.

**නිකායශාඛනඛිකායෝ:**

මියර බුන් දියතලාවක් සෙයින් ස්ථවිරවංශයෙන් බිඳීගිය ඒ **මහාසාංඝිකා** ඇදුරුකුලයෙන් **ගොකුලිකා** යැ **එකබ්බොහාරිකා** යැ යි අන්‍ය ආචාර්‍ය්‍යවංශ දෙකෙක් උපන. ගොකුලික නිකායෙන් බිඳී **පඤ්ඤත්තිවාදී යෑ බාහුලිකා** (බාහුශ්‍රැතික) යැ යි අන්‍ය දෙනිකායෙක් ද ඇති විය. බාහුලිකයන් අතුරෙහි මැ **චෙතියවාද** නම් අභිකුදු ආචාර්‍ය්‍යවාදයෙක් පහළ විය. මෙසේ මහාසාඞ්ඝිකයන් හා ආචාර්‍ය්‍යවාද සයෙක් පහළ විය.

මහාසාඞ්ඝික නිකාය අනුකරණය කෙරෙමින් දෙවැනි සියවසෙහි දී මැ ස්ථවිරවංශයෙන් බිඳී **මහිංසාසක** යැ **වජ්ජිපුත්තක** යැ යි ආචාර්‍ය්‍යවාද දෙකෙක් උපන. එහිදු වජ්ජිපුත්තකවාදයෙන් බිඳී **ධම්මුත්තරිය** යැ **භද්‍රයානික** යැ **ඡන්නාගරික*** යැ **සම්මිතිය** යැ යි අතිකුදු ආචාර්‍ය්‍යවාද සතරෙක් පහළ විය. මහිංසාසකවංශයෙනුදු බිඳී **සබ්බත්ථවාදී** යැ **ධම්මගුත්තික** යැ යි ආචාර්‍ය්‍යවාද දෙකෙක් ද, සබ්බත්ථවාදයෙන් බිඳී **කස්සපික** නම් වූ ද, උන්ගෙන් **සඞ්කන්තික** නම් වූ ද, එයින් **සුත්තවාද** නම් වූ ද ආචාර්‍ය්‍යවාදයෝ උපන්හ. ඔහු ස්ථවිරවාදය සමග දොළොස් ආචාර්‍ය්‍යවාද් කෙනෙක් වෙති. මේ දොළොස ද මහාසාඞ්ඝිකයන්ගේ ආචාර්‍ය්‍යවාද සය දැයි අටළොස් ආචාර්‍ය්‍යවාද කෙනෙක් දෙවැනි සියවස තුළ පහළ වූහ. අටළොස් නිකායයනුදු අටළොස් ආචාර්‍ය්‍යකුලයනුදු තුලුන්ට මැ නමි. මෙයින් සතළොස් වාද කෙනෙක් භින්න වූවාහු බුදු-සසුන් මහරුක්හි විසකටු සෙයින් උපන්හ. ස්ථවිරවාදය පමණක් මැ අසම්භින්න වූයේ ය. එහි ආචාර්‍ය්‍යවරයෝ දිවි දෙවැනි කොට තබා ජින-ශාසනය අනූන අනධික කෙවලපරිපූර්ණ පරිශුද්ධ කොට රක්මින් වැටෙන්නාහු වෙත්.

**අශෝක සමය:**

යථොක්ත අටළොස් ආචාර්‍ය්‍යවාදයන්ගේ වශයෙන් සසුන් පවත්නා කල්හි දඹදිවැ ද්වීපචක්‍රවර්ති **අශෝක ධර්මරාජ** තෙමේ උපන් සැදැහැතියේ දවසැ දවසැ පන්ලක්‍ෂයක් වැය කොට බුදුසසුන්හි මහත් අධිකාර පැවැත්විය. නට ලාභ ඇති තීර්ථකයෝ ලාභ සත්කාර සඳහා සසුන් වැද සසුනට අනෙක ප්‍රකාර අර්බුදමල කණ්ටක උපදවාලූහ. ඔහු උපොසථ කර්මාදියෙහි දු සඟ මැදට පිවිසෙති. භික්‍ෂුසඞ්ඝයා වහන්සේ උන් සමග පොහෝ පවුරුණු නො කළහ. අශෝකාරාමයෙහි සත් අවුරුද්දක් පොහෝ පවුරුණු නැවැතිණ. රජ-අණින් පොහෝ කරවන්නට ගිය බධිරගති ඇති බාල ඇමැතියකු විසින් බොහෝ භික්‍ෂූන් දිවියෙන් තොර කරනු ලැබූ කල්හි, උපන් විපිළිසර ඇති රජ එ විපිළිසර හරනා සඳහාත් බුදුසසුන් නිරර්බුද කරනු සඳහාත් අහොගඞ්ගපර්වතයෙහි වැඩහුන් **මොග්ගලිපුත්තතිස්ස** මහතෙරුන් වහන්සේ වැඩමවා, ඔබ අතින් සසුන් සමය ඉගෙන (අටුවායෙහි කී සෙයින්) සැටදහසක් අන්තොටුවන් සුදුවත් හඳවා සසුනින් නෙරපියා, 'වහන්ස, දැන් සසුන ශුද්ධ යැ, පොහෝ කළ මැනැවැ' යි සඟනට ආරාධනා කොට අරක් දී නුවරට පිවිසියේ ය. සැටදහසක් පමණ වූ සමග මහා-සඞ්ඝයා වහන්සේ අශෝකාරාමයෙහි රැස්ව පොහෝ කළහ.

**කථාවත්‍ථු දෙශනාව:**

ඒ සමාගමයෙහි **මොග්ගලිපුත්තතිස්ස** මහරහතුන් වහන්සේ **වජ්ජිපුත්තක - සම්මිතීය** ආදි නිකායවාසීන් තත් තත් පිටක සූත්‍රපදයෙහි සම්මොහයෙන් අර්ථ වරදවා ගෙන උපදවා තුබූ **පුග්ගලකථා** ආදි වස්තූන් ද, ශාසන විලොම වැ මතු උපදනා වස්තූන් ද ප්‍රතිබාහන සඳහා බුදුරදුන් වදාළ අභිධර්ම නය වශයෙන් මැ කථාවස්තු මාතෘකා විභාග කරමින් ස්වකවාදයෙහි සූත්‍ර පන්සියෙකැ, පරවාදයෙහි සූත්‍ර පන්සියෙකැ'යි සූත්‍ර දහසක් සාධක වශයෙන් එළවා **කථාවත්‍ථුප්පකරණය** වදාළහ.

---

* ජන්නාගාරික - බොහෝ පොත්

“මොංගලිපුත්තතිස්ස මහතෙරණුවන් කථාවස්තුව ප්‍රබන්ධ කරන ලද”යි ඇතැම් විචාරකයෝ කියති. ඒ උන්ගේ මතිමාත්‍ර වත් මුත් ඔබ ප්‍රබන්ධ කළ කථාවස්තුයෙක් නැත. **ධම්මසඞ්ගණී** ආදි ෂට්ප්‍රකරණය **සැරියුත්** මහතෙරණුවන් වාචනාමාර්ගයට නඟා දෙශනා කළ පරිදි මැ කථාවස්තු-ප්‍රකරණය ද **මොංගලිපුත්තතිස්ස** මහතෙරුන් විසින් වාචනාමාර්ගයට නඟා සඟමැද දෙසන ලද්දේ ය:

බුදුරජාණන් වහන්සේ යමාමහපෙළහර අවසනැ තිදසපුර පරසතුරුක් මුලැ පඬුඇඹුල්සලයෙහි වැඩහිඳ මාතෘදිව්‍යරාජයා කායසාක්ෂි කොට විජම් බණ දෙසන සේක් - **සැරියුත්** මහ තෙරණුවන්හට එහි නය පහදා වදාළාක් මෙන්, කථාවස්තු දෙශනාවසරයෙහි “අනායෙහි මාගේ සව් මහපැනැති **මොංගලිපුත්තතිස්ස** නම් තෙර කෙනෙක් උපන් ශාසනමල විසෝධා පුද්ගලකථාදි කථාවනට වස්තු වූ ධර්මජාතය විභාග කොට දක්වති” දැන නානාප්‍රකාර ලබ්ධි විශොධනයට ද්වාර වූ, පෙළ විසින් බණවරක් තරම් වනසේ කථාවස්තුමාතෘකා දෙශනා කොට වදාළ සේක. මහතෙරණුවෝ බුදුන් වදාළ නයෙහි සිට ඒ මාතෘකා පෙළ විසින් මැ විභාග කළහ.

එහි දැක්වූ වාදමාර්ගය යම් කිසි වාදී කෙනකුන් සමග උන් ඉදිරියෙහි කථාප්‍රතිකථායෙන් වාද කොට ප්‍රකාශ කරනලද්දෙකුදු නො වෙයි. තමන් වහන්සේ විසින් මැ නිකායාන්තරිකයන්ගේ ලබ්ධි විශොධනය සඳහා සකවාදී පරවාදී පුච්ඡා විස්සජ්ජනා වශයෙන් වදාරන ලද්දේ ය.

**තෙවන සඞ්ගීතිය:**

ඒ සමාගමයෙහි රැස්වූ සැටදහසක් පමණ භික්ෂූන් වහන්සේ අතුරෙන් ත්‍රිපිටකධර වූ සිව්පිළිසිඹියාපත් එක් දහසක් මහතෙරවරුන් නඟාගෙන පළමුවන දෙවන සඞ්ගීතිද්වයෙහි මහාකාශ්‍යපස්ථවිරයන් වහන්සෙ හා යශස්ථවිරයන් වහන්සේ හා ප්‍රමුඛ කොටගෙන ධර්මවිනය සඞ්ගායනා කළ සෙයින් මැ **තුන් වැනි ධර්මසඞ්ගීතිය** ද පවත්වාලූහ. මේ සඞ්ගීතිය දහසක් මහරහතුන් වහන්සේ විසින් කළ හෙයින් **සාහස්සිකා** නම් වී. මෙහි දු විශෙෂයෙක් නම්: විනය චූළවග්ගයෙහි පඤ්චසතිකක්ඛන්ධකයට අනතුරු කොට දෙවැනි සඞ්ගීති කථායෙහි ප්‍රකාශිත සත්තසතිකක්ඛන්ධකය ද, අභිධර්මසඞ්ගීතියට පැමිණ පුග්ගලපඤ්ඤත්තිප්පකරණයට අනතුරු කොට කථාවස්තු මාතෘකා විභාග කොට වදාළ කථාවත්ථුප්පකරණය ද සඞ්ගීතියට නඟාලීම යි.

තවද චූළවග්ගපාළියෙහි භික්ඛුනීක්ඛන්ධකයට අනතුරු කොට එකාදශ ද්වාදශ ඛන්ධකයන් වශයෙන් පඤ්චසතික සත්තසතිකක්ඛන්ධකයන් (පළමුවන දෙවන සඞ්ගීති කථා) සඟහා ලූ පරිදි තෙවන සඞ්ගීති කථා වශයෙන් සාහස්සිකක්ඛන්ධක නම් තෙළෙස්වැනි ඛන්ධකයක් එහි නො ආයේ කවර හෙයින යත්: මහාසඞ්ගායනාත්‍රය මෙන් සිව්වැනි ධර්මසඞ්ගීතියක් නො-පැවැත්ම එයට හෙතු විය. ප්‍රථමසඞ්ගීතියෙහි සඞ්ගීතිකාරකයන් විනයානුකූල කොට සම්මත කළ **ඤත්තිදුතිය කර්මය** ද, ද්විතීයසඞ්ගීතියෙහි දශවස්තු විනිශ්චය සඳහා සම්මත කළ **ඤත්තිකර්මය** ද විනයෙහි දක්වාලීමේ යොග්‍යත්වය නිසා විනයක්ඛන්ධක අතුරෙහි එම සඞ්ගීතිකථා සඞ්ගෘහිත වී යයි සැලැකිය යුතු ය.

**භින්නනිකායවාදීහු:**

බුදුන් පිරිනිවි දෙවැනි සියවස ඇතුළත උපන් සතළොස් භින්නවාදයෝ යට දක්වන ලදහ. තුන්වැනි සඞ්ගීතියෙන් පසු ව ද කලින් කල **හෙමවතික** යැ **රාජගිරික** යැ **සිද්ධත්ථික** යැ **පුබ්බසෙලිය**යැ **අපරසෙලිය** යැ **වාජිරිය** යැ යි ආචාර්‍ය්‍යවාද සයෙක් උපන. ධම්ප්‍රදීපිකායෙහි **ගුරුළුගෝමි** ඇදුරන් විසින් "එක්බිති මහාසාඞ්ඝිකාදි සප්තදශ නිකායවාසී බුද්ධසතුරන් ... පසු වැ හෙමවතාදි නවනිකායවාසී ..." යනාදියෙන් අන්‍ය නිකාය නවයෙක් පැවැති සේ දක්වන ලද්දේ ය. එ **පඤ්චප්පකරණ** අටුවායෙහි තැනින් තැනැ සඳහන් ලත් **උත්තරාපථක** යැ **වෙතුල්ලක** යැ **හෙතුවාදී** යැ යන තුන් නිකාය ද එක් කොට ගැනීමෙනි. වැඩි ගණනක් වාදකථා විෂයෙහි සඳහන් ලැබෙන **අන්ධක** යන නාමය වූ කලි පූර්වශෛලීය, අවරශෛලීය, රාජගිරික, සිද්ධාර්ථික යන නිකාය සතර සඳහා ව්‍යවහාර කරන ලද්දෙකි. එ මැ කිය කථාවත්ථු අටුවායෙහි: "අන්ධකා නාම – පුබ්බසෙලියා අපරසෙලියා රාජගිරිකා සිද්ධත්ථිකාති – ඉමෙ පච්ඡා උප්පන්නනිකායා"යි. **ආන්ධ්‍ර** දෙශයට සමීපයෙහි වූ **ධාන්‍යකටක**යෙහි 'පූර්වශිලා, අවරශිලා' යයි ආරාම දෙකක් තුබූ බව චීන සංචාරක **හ්‍යුංසාං** කියයි. එ අරම්වැසි ඇදුරන් උපදවාලූ වාද හෙයින් පූර්වශෛලීය අවරශෛලීය නම් වී යයි ද, රාජගිරික සිද්ධාර්ථික යන වාද ආන්ධ්‍රදෙශිකයන් මැ උපදවාලූ එහෙයින් ද – මේ ආචාර්‍ය්‍යවාද සතර එක් කොට **අන්ධක** නාමයෙන් කථාවත්ථු අටුවායෙහි හඳුන්වන ලද බව සැලැකිය යුතු ය.

**නිකායාන්තර හා කථාවත්ථුව:**

යට දැක්වූ සවිස්සක් පමණ භින්න නිකායවාසීන් විසින් ත්‍රිපිටක පර්‍ය්‍යාප්ති සඞ්ඛ්‍යාත ජිනශාසනය වරදවාගෙන නිපදවාලූ විවිධ ලබ්ධි විශෝධනය සඳහා කථාවත්ථුමාතෘකා පාළිය විභාග කරනලද්දේ ය. එහි **පුග්ගලකථා, පරිහානිකථා** ආදි වාදස්ථානයෝ දෙසියසතළොස (217) ක් පමණ වෙති. අටුවා ඇදුරු **බුද්ධඝොෂ** මහතෙරුන් වහන්සේගේ කාලය වන විට එ කී ආචාර්‍ය්‍යකුලයන් අතුරෙන් බොහෝ ගණනක් අභාවයට ගොස් හෝ නිකායාන්තරයන් හා සම්මිශ්‍රණයට පැමිණ හෝ තුබූ බව පෙනේ. ඉතිරි වැ සිටි වාදීහු නම්:

| | | | |
|---|---|---|---|
| 1. | අන්ධක | 9. | මහිංසාසක |
| 2. | අපරසෙලිය | 10. | රාජගිරික |
| 3. | උත්තරාපථක | 11. | වජ්ජිපුත්තක |
| 4. | කස්සපික | 12. | වෙතුල්ලක |
| 5. | ගොකුලික | 13. | සබ්බත්ථිවාද |
| 6. | පුබ්බසෙලිය | 14. | සම්මිතීය |
| 7. | භද්‍රයානික | 15. | සිද්ධත්ථික |
| 8. | මහාසඞ්ඝික | 16. | හෙතුවාද |

යන මොහු ය. මොවුනතුරෙහි 'අන්ධක, උත්තරාපථක, වෙතුල්ලක, හෙතුවාද යන සතර නිකායයෝ පසුව ප්‍රකාශයට පැමිණියාහු වෙති. **අන්ධක** නාමයෙන් පුබ්බසෙලියාදි නිකාය සතරක් ගත් බව කියා ඇත.

අශොක සමයෙහි සසුන් වැදී සිටි අන්‍යතීර්ථකයන්ගේ වාද බිඳුනට 'කථාවත්ථුව දෙශිතය'යි ඇතැම් කෙනෙක් කියති. එ ද උන්ගේ කල්පනා මාත්‍රයෙකි. ලාභහෙතුයෙන් සසුන් වැදී සිටි තීර්ථකයෝ හෙළ පිළී හඳවා

සසුනින් බැහැර කරනු ලැබූහ. දෙවැනි සඞ්ගීතියෙන් පසු භින්නවාද ගෙන සිටි සතළොස් නිකාය වාසීහු සසුනෙහි මැ රැඳී සිටියහ. මහාසමාගමයට රැස්වූ සැටදහසක් පමණ භික්ෂුහු ස්ථවිරවාදීහු මැ යැ. කථාවස්තුව දෙසන ලදුයේ වජ්ජිපුත්තකාදි නිකායවාසීන් "අත්ථි පුග්ගලො අත්තහිතාය පටිපන්නො" යනාදි සූත්‍රපදයන් වරදවා ගෙන උපදවාලූ භින්නලබ්ධි විශොධනය සඳහා මැ යැ.

**කථාවත්ථුප්පකරණ:**

පුද්ගලවාදකථා ආදි වාදයනට වත්ථු (භූමි) වූ කාරණ **කථාවත්ථු** නම් වෙයි. ඒ කථාවස්තූන් සඞ්ග්‍රහ කොට දෙශනා කළ ප්‍රකරණය ද **කථාවත්ථුප්පකරණ** නම් වී. මෙහි එන වාදකථා දෙසිය සතළොසෙකි. එ හැම වර්ග තෙවිස්සෙක සඞ්ග්‍රහ කොට ඇත. එහි ආදි වූයේ පුග්ගලකථා යැ. ප්‍රකරණය වාචනා මාර්ගයට නඟාලීමේ දී පුද්ගලකථාව සම්පූර්ණයෙන් විස්තර විය. එයින් මත්තෙහි 'පරිහානිකථා' ආදිය පෙය්‍යාල විසින් සංක්ෂිප්ත කරන ලද්දේය. එහෙයින් පුග්ගලකථායෙහි එන වාද ක්‍රමය අනුව හැම වාදකථාවක් ම සුදුසු පරිදි විස්තර කළ යුතු ය.

**පුග්ගලකථා විභාගය:**

මෙහි මුලින් විභාග කළ පුග්ගල කථාව- 1 සුද්ධසච්චිකට්ඨ යැ, 2. සුද්ධික සංසන්දනා යැ, 3. ඔපම්මසංසන්දනා යැ, 4. චතුක්කනයසංසන්දනා යැ, 5 ලක්ඛණයුත්තිකථා යැ, 6. වචනසොධන යැ 7. පඤ්ඤත්තානුයොග යැ, 8. ගති – චුති – පටිසන්ධි අනුයොග යැ, 9. උපාදාපඤ්ඤත්තානුයොග යැ, 10. පුරිසකාරානුයොග යැ, 11. අභිඤ්ඤානුයොග යැ, 12. ඤාතක-ජාති-පටිපත්ති – උපපත්ති අනුයොග යැ, 16. පටිවෙධානුයොග යැ, 17. සඞ්ඛානුයොග යැ, 18. සච්චිකට්ඨසභාවානුයොග ය යි අටළොස් අයුරෙකින් පුද්ගලප්‍රශ්නවිභාග කොට ඇත.

එහිදු සච්චිකට්ඨ ප්‍රශ්නකථාව සුද්ධසච්චිකට්ඨ යැ, ඔකාසසච්චිකට්ඨ යැ, කාලසච්චිකට්ඨ යැ, අවයව සච්චිකට්ඨයැ යි සච්චිකට්ඨ සතරෙකින් යුක්ත වෙයි.

කථාවත්ථු පාළියෙහි සුද්ධසච්චිකට්ඨය පමණක් මැ සම්පූර්ණයෙන් විභාග කොට දක්වන ලද්දේ ය. ඔකාසසච්චිකට්ඨයෙහි පටන් ප්‍රකරණය මුළුල්ල පෙය්‍යාලමුඛයෙන් සඞ්ග්‍රහ කොට ඇත. එහෙයින් සුද්ධසච්චිකට්ඨය විස්තර කළ නයින් කථාවත්ථු ප්‍රකරණයෙහි එන වාදකථාක්‍රමය අවබොධ කටයුතු වෙයි.

සුද්ධසච්චිකට්ඨයෙහි අනුලොමපච්චනීකපඤ්චක යැ, පච්චනීකානුලොමපඤ්චක ය'යි පඤ්චක දෙකෙකි. එයින් පළමුවැන්න අනුලොමපඤ්චක, පටිකම්මචතුක්ක, නිග්ගහචතුක්ක, උපනයනචතුක්ක, නිගමනචතුක්ක' යැ යි කොටස් පසෙකින් ද, දෙ වැනි පඤ්චකය 'පච්චනීකපඤ්චක, පටිකම්මචතුක්ක, නිග්ගහචතුක්ක, උපනයනචතුක්ක, නිගමනචතුක්ක යැයි කොටස් පසෙකින් ද යුක්ත වෙයි.

"පුග්ගලො උපලබ්භති සච්චිකට්ඨපරමත්ථෙන? යො සච්චිකට්ඨො පරමත්ථො, තතො සො පුග්ගලො උපලබ්භති සච්චිකට්ඨපරමත්ථෙන"යි **පුච්ඡං, අනුයොග** විසින් පරවාදී පක්ෂය ගත් වාදයෙහි හෙවත් ලබ්ධියෙහි

නිග්‍රහ (දොෂ) ය නගාලීම ය, අනුලොම පටිලොම වශයෙන් දෙවැදෑරුම් වූ **පාපනා** හෙවත් 'තෙන වත රෙ' යනාදීන් නිග්‍රහය පමුණුවාලීම ය, **ආරොපනා** හෙවත් "යං තත්‍ථ වදෙසි" යනාදීන් නිග්‍රහය ආරොපණය කිරීම ය යන කරුණු පසින් යුක්ත වූයේ **අනුලොම පඤ්චක** නම් වේ. මෙහි අනුලොම පටිලොම විසින් **ඨපනා** දෙකකුදු ඇතියෙන් 'සත්තක' යයි කියැයුතු යැ. එසේ නො කීමෙහි යුක්ති කිම? මෙහි 'ඨපනා' නම්: "මේ තොපගේ දොෂයැ"යි පරවාදී පක්‍ෂය එහි පිහිටුවාලන හෙයින් වාදස්ථා- පනමාත්‍රයෙක් ම මුත් පාපනාරොපනා සෙයින් අනුලොම පටිලොම පඤ්චකයෙහි ප්‍රධාන අවයවයෙක් නො වේ.

"පුග්ගලො නුපලබ්භති" යනාදීන් පරවාදීහු විසින් අනුලොමයෙන් හා ප්‍රතිලොමයෙන් පාපනාආරොපනා චතුෂ්කයාගේ වශයෙන් කළ ප්‍රතිකර්ම හෙයින් දෙවැන්න **පටිකම්මචතුක්ක** නම් විය. පටිකම්ම, නිග්ගහ, උපනයන, නිගමන, යන චතුෂ්කයෝ ද සිව්වැදෑරුම් පාපනාරොපනයන්ගේ වශයෙන් ලැබෙන සැටි සැලකියයුත්තාහු ය. මෙසේ "පුග්ගලො උපලබ්භති" යනාදි අනුලොම පඤ්චකයාගේ ද "නුපලබ්භති" යනාදි වූ පටිකම්ම – නිග්ගහ– උපනයන – නිගමන චතුෂ්කයන්ගේ ද වශයෙන් **අනුලොම – පච්චනීක – පඤ්චක** ලැබෙති.

"පුග්ගලො නුපලබ්භති සච්චිකට්ඨපරමත්ථෙන" යනාදීන් පච්චනීකනය පරවාදීහුගේ පුච්ඡායෙන් ඇරැඹෙයි. එහි පච්චනීක නයින් විරුද්ධපක්‍ෂය පිහිටුවාලීම යැ, අනුලොම පටිලොම වශයෙන් සිව්වැදෑරුම් වූ පාපනා ආරොපනා යැ යන මෙ **පච්චනීකපඤ්චක** නම් වේ. යළි "උපලබ්භති පුග්ගලො" යනාදි වූ 'පටිකම්ම–නිග්ගහ–උපනයන–නිගමන චතුෂ්කයන්ගේ වශයෙන් **පච්චනීකානුලොමපඤ්චක** නම් දෙවැනි පඤ්චකය ගැනේ.

මෙසේ මේ පළමුවැනි සච්චිකට්ඨයෙහි පඤ්චකයෝ දෙදෙනෙක් වෙති. ඒ පඤ්චකද්වයෙහි නිග්‍රහ දෙකෙකි. පළමුවැනි පඤ්චකයෙහි සකවාදී විසින් පරවාදී හට කළ නිග්‍රහය ශුද්ධ යැ. එහි පරවාදීහු විසින් පටිකම්ම වශයෙන් ඡලවාදයෙන් ලත් ජය අශුද්ධ යැ. අධර්මයෙන් ලත් ජය හෙයිනි. දෙවැනි පඤ්චකයෙහි පරවාදී විසින් සකවාදී හට කරන නිග්‍රහය අශුද්ධ යැ. යළි සකවාදී විසින් ධර්මවාදයෙන් පටිකම්ම කොට ලත් ජය ශුද්ධ යැ. ධර්මවාදයෙන් ලත් ජය හෙයිනි.

කථාවස්තුප්‍රකරණයෙහි එන සියලු වාදකථා මේ පළමුවැනි සච්චිකට්ඨය විභාග කළ ලෙසින් විමසා දත යුතු ය.

**කථාවස්තුයෙහි වාදක්‍රමය:**

කථාවස්තුප්‍රකරණයෙහි එන වාදක්‍රමය 'ඨපනා, පාපනා, ආරොපනා යන අවයව තුනෙකින් යුක්ත ය. එහි **ඨපනා** නම්: විරුද්ධ මතය බිඳිනු සඳහා ඉදිරිපත් කරන වාදකථාවේ පූර්වපක්‍ෂ යි – ප්‍රධාන තර්කාඞ්ග යි. ඨපනායෙන් පැමිණෙන ඵලය **පාපනා** නම් වෙයි. එයින් ප්‍රතිවාදියා මත නැඟෙන නිග්‍රහය හෙවත් පරාජය **ආරොපනා** නම් වේ. මේ වාදක්‍රමය තවත් පහසුවෙන් වටහාගනු සඳහා නිදසුනක් එළවාලම්හ.

(1) සකවාදී: අකාර දෙකක් එක් වැ සන්ධි වීමෙන් 'ආ' කාරයෙක් වේ ද? (පුච්ඡා)

පරවාදී: එසේ යැ. (පටිජානනා – පටිඤ්ඤා)

සකවාදී: ඉකාර දෙකක් එක් වැ සන්ධි වීමෙන් ඊකාරයෙක් වේ ද? (අනුයොග)

පරවාදී: එසේ නො කියැයුතු යැ. 'නැත' යනුයි (පටික්ඛෙප)

සකවාදී: අකාර දෙකක් එක් වැ සන්ධි වීමෙන් ආකාරයෙක් වේ නම්, (අනුලොම්-ඨපනා.)

සකවාදී: ඉකාර දෙකක් එක් වැ සන්ධි වීමෙන් ඊකාරයෙක් වේ යයි කියැයුතු යැ. (අනුලොම පාපනා)

සකවාදී: අකාර දෙකක් එක් වැ ආකාරයක් වන බව පිළිගන්නා තෙපි ඉකාරද්වයක් එක් වැ ඊකාර වනු නො පිළිගන්නාව. එහෙයින් ඉකාරද්වයක් එක් වැ ඊකාර නො වේ යයි තොප කියන බස සාවද්‍ය ය. තොපගේ බස වරද බව ඔප්පු වී යයි සේ යි. (අනුලොම - ආරොපනා.)

කථාවත්ථුයෙහි එන වාදක්‍රමය මෙ බඳු යි. මෙය මැ අවරදිගැ නූතන තර්කක්‍රමය අනුව මෙසේ සිටී:

අ අ දෙක ආ වේ නම්,
ඉ ඉ දෙක ද ඊ වෙයි. (එහෙත් තොප මතයෙහි ඉ ඉ දෙක ඊ නො වෙයි.)
එසේ නම්, අ අ දෙක ද ආ නො වේ.

මේ දක්වන ලද්දුයේ අනුලොම පක්ෂ යි.

කථාවත්ථුයෙහි එන පටිලොම පක්ෂයෙහි නිදසුන් මෙසේ යැ:

(2) සකවාදී: ඉ ඉ දෙක එක් වැ ඊකාර නො වේ නම්, (පටිලොම - ඨපනා)

සකවාදී: අ අ දෙක එක් වැ ආකාරයෙක් වේ යයි ද නො කියැයුතු යැ. (පටිලොම - පාපනා)

සකවාදී: ඉ ඉ දෙක එක් වැ ඊකාර නො වේ යයි තොප කියන බස මිථ්‍යා වේ. (පටිලොම - ආරොපනා)

මෙය අවරදිගැ තර්කක්‍රමය අනුව මෙසේ සිටී:

ඉ ඉ දෙක ඊ නො වේ නම්,
අ අ දෙක ද ආ නො වේ.
එහෙත් අ අ දෙක ආ වෙයි.
එහෙයින් ඉ ඉ දෙක ද ඊ වේ.

අවරදිගැ ක්‍රමයෙහි අනුලොම ප්‍රතිලොම පක්ෂ දෙකින් ම පාපනාව බැහැර කරනලද වේ.

පූර්වපක්ෂය හෙවත් ප්‍රධාන තර්කාඞ්ගය පසුව දැක්වූ ක්‍රමයට පෙරළුව හොත් ලැබෙනුයේ මෙසේ යැ:

අ අ දෙක ආ වේ නම්,
ඉ ඉ දෙක ද ඊ වෙයි.
අ අ දෙක ආ වෙයි.
එහෙයින් ඉ ඉ දෙක ඊ වේ.

දෙවැනි තර්කක්‍රමයෙන් පරවාදීන්ගේ දෙවැනි උත්තරය යළි පිහිටුවනු ලැබෙයි.

(3) පරවාදී: අ අ දෙක ආ නො වේ නම්,
ඉ ඉ දෙක ද ඊ නො වේ.
අ අ දෙක ආ නො වේ යයි ද, එහෙත් ඉ ඉ දෙක ඊ වේ යයි ද තෙපි කියව.
අ අ දෙක ආ නො වේ නම්, ඉ ඉ දෙක ද ඊ නො වේ.

(4) යළි පරවාදී කියයි: මේ ප්‍රතිබාහනය සාවද්‍ය ද? එය තොප කී දැය හා සසඳා බලව. එහි අපි අ අ දෙක ආ වේ යයි කීම්හ. තෙපි අපගේ බස සාවද්‍ය යයි කියව. තොප අපට නැඟුයේ නැති දෙසෙකි. අප දුන් පිළිතුර බලග. එ නයින් අපට දොස් නො නැඟිය යුතු වේ. තොපගේ දෝෂාරෝපණය සාවද්‍යය. අප තොපට කළ දෝෂාරෝපණය නිරවද්‍ය වෙයි. අපගේ නිගමනය නිවැරදි වේ.

**අට්ඨමුඛවාදයුත්ති:**

කථාවත්ථුයෙහි පුද්ගලකථාව පිළිබඳ පළමුවැනි සච්චිකට්ඨයෙහි එන සිව්වැදෑරුම් සච්චිකට්ඨයන් අතුරෙන් එකෙකි සච්චිකට්ඨයෙහි ‘අනුලෝම පච්චනීක යැ, පච්චනීකානුලෝම’ යැ යන පච්චනීකයන් දෙදෙනාගේ වශයෙන් **අට්ඨමුඛවාදයුත්ති** දක්වන ලදු. එහි ආකෘතිය මෙසේ යැ:

(1) පරමාර්ථ වශයෙන් පුද්ගල ඇද්ද? (පුග්ගලො උපලබ්භති සච්චිකට්ඨපරමත්ථෙන)

(2) හැම තන්හි පරමාර්ථවශයෙන් පුද්ගල ලැබේ ද? (සබ්බත්ථ පුග්ගලො උපලබ්භති සච්චිකට්ඨපරමත්ථෙන)

(3) (පූර්ව-පශ්චිමාදි) හැම කල්හි පරමාර්ථ වශයෙන් පුද්ගල ලැබේ ද? (සබ්බදා පුග්ගලො උපලබ්භති සච්චිකට්ඨපරමත්ථෙන )

(4) (පඤ්චඛන්ධ - ද්වාදසආයතන - අට්ඨාරසධාතු - බාවීසතිඉන්ද්‍රිය යන සත්පනස් ධර්ම සඞ්ඛ්‍යාත) හැම විෂයෙහි පරමාර්ථ වශයෙන් පුද්ගල ලැබේ ද? (සබ්බෙසු පුග්ගලො උපලබ්භති සච්චිකට්ඨ-පරමත්ථෙන.)

මේ සතරෙහි එක්එක්හි නිග්‍රහ දෙකක් දෙකක් බැගින් ලැබෙන නිග්‍රහ අට ‘අෂ්ටමුඛ නිග්‍රහ’ නම් වෙයි. ‘අට්ඨමුඛ වාදයුත්ති’ යයි අටුවාහි කියන ලද්දේ එය මැ යි. පාළියෙහි **අට්ඨකනිග්ගහ** යයි ලියනු ලැබේ.

මෙය බෙදා ඇති සැටි විස්තර වශයෙන් මෙසේ ය:

1. (i) සුද්ධසච්චිකට්ඨයෙහි සකවාදි පක්ෂයෙන් ඇරඹෙන ප්‍රථම නිග්‍රහකථාව වෙයි. **පුග්ගලො උපලබ්භති සච්චිකට්ඨ-පරමත්ථෙන, යො සච්චිකට්ඨො පරමත්ථො තතො සො පුග්ගලො උපලබ්භති සච්චිකට්ඨපරමත්ථෙන**’’ – ‘පරමාර්ථ වශයෙන් පුද්ගල ඇද්ද? යනාදිය ප්‍රශ්න යි. මෙහි සකවාදී පක්ෂයෙන් ඇරඹෙන නිග්‍රහයෙහි අනුලෝමපඤ්චකාදි කොටස් පස වෙයි.

(ii) ඒ සුද්ධසච්චිකට්ඨයෙහි ම "**පුග්ගලො නූපලබ්භති සච්චිකට්ඨපරමත්ථෙන, යො සච්චිකට්ඨො පරමත්ථො තතො සො පුග්ගලො නූපලබ්භති සච්චිකට්ඨපරමත්ථෙන**" යි පරමාර්ථ විසින් පුද්ගල නැද්ද? යනාදීන් පරවාදී පක්ෂයෙන් ඇරැඹෙන දෙවැනි නිග්‍රහය වෙයි. එහි පටිලොමපඤ්චකාදි කොටස් පස වෙයි.

(iii) "**පුග්ගලො උපලබ්භති සච්චිකට්ඨපරමත්ථෙන සබ්බත්ථ පුග්ගලො උපලබ්භති**" යනාදීන් හැම තැන (හැම සිරුරෙක) පරමාර්ථ වශයෙන් පුද්ගල ඇද්ද? ආදි තෙවැනි නිග්‍රහ කථාව ද,

(iv) "**සබ්බදා පුග්ගලො උපලබ්භති**" යි හැම කල්හි (පූර්ව පශ්චිම ජාති කාලාදියෙහි) පරමාර්ථ වශයෙන් පුද්ගල ඇද්ද? යනාදි සිව්වැනි නිග්‍රහය ද,

(v) "**සබ්බෙසු පුග්ගලො උපලබ්භති**" යි සියල්ලෙහි (සකන්ධාදි සත්පනස් ප්‍රභෙද ධර්මයෙහි) පරමාර්ථ විසින් පුද්ගල ඇද්ද? යනාදි පස්වැනි නිග්‍රහය ද යන අනුලොමපඤ්චක නිග්‍රහකථා තුන ම සකවාදීපක්ෂයෙන් ඇරැඹෙයි.

(vi) අනතුරුව "**සබ්බත්ථ පුග්ගලො නූපලබ්භති**" යි සියලු තන්හි පරමාර්ථ වශයෙන් පුද්ගල නැද්ද? යනාදි සවැනි නිග්‍රහය ද,

(vii) "**සබ්බදා පුග්ගලො නූපලබ්භති**" යි හැම කල්හි පුද්ගල පරමාර්ථ වශයෙන් නො ලැබේ ද? යනාදි සත්වැනි නිග්‍රහය ද,

(viii) "**සබ්බෙසු පුග්ගලො නූපලබ්භති**" යි හැම ධර්මවිෂයෙහි පරමාර්ථ වශයෙන් පුද්ගල නැද්ද? යනාදි අටවැනි නිග්‍රහ කථා ද යි අවසානයෙහි පච්චනීකානුලොම නිග්‍රහකථා තුන පරවාදී පක්ෂයෙන් ඇරැඹෙයි. ඒ හැම තන්හි අනුලොම පඤ්චකාදි කොටස් පස යෙදෙන සේ සැලැකිය යුතු ය.

"එත්තාවතා සුද්ධිකස්ස චෙව ඉමෙසඤ්ච **තිණ්ණන්ති** චතුන්නං සච්චිකට්ඨානං එකෙකස්මිං සච්චිකට්ඨෙ අනුලොම පච්චනීකස්ස ච පච්චනීකානුලොමස්ස චාති ද්වින්නං ද්වින්නං පච්චනීකානං වසෙන අයං අට්ඨමුඛා නාම වාදයුත්ති නිද්දිට්ඨා හොති" යනු අටුවා යි. සුද්ධික-ඨාන-කාල-ඛන්ධාදි විසින් සිව්වැදෑරුම් සච්චිකට්ඨ (සත්‍යාර්ථ) යන් අතුරෙහි එකෙකී සච්චිකට්ඨයෙහි යෙදෙන අනුලොමපච්චනීක යැ, පච්චනීකානුලොම යැ' යි දෙවදෑරුම් පච්චනීකයන්ගේ වශයෙන් **අට්ඨමුඛවාදයුත්ති** දක්වන ලදු.

**කථාවත්ථුයෙහි සූත්‍ර දහසෙක් ඇත:**

"මොග්ගලිපුත්තතිස්සත්ථෙරො ... සත්ථාරා දින්නනයවසෙනෙව තථාගතෙන ඨපිතමාතිකං විභජන්තො සකවාදෙ පඤ්චසුත්තසතානි පරවාදෙ පඤ්චාති සුත්තසහස්සං ආහරිත්වා ඉමං ... කථාවත්ථුප්පකරණං අභාසි" යනු අටුවා යැ.

**මොග්ගලිපුත්තතිස්ස** තෙරණුවෝ ශාස්තෘන් වහන්සේ විසින් දී වදාළ නය වශයෙන් මැ තථාගතයන් තැබූ (කථාවත්ථු) මාතෘකාව විභාග කරමින් සකවාදයෙහි සූත්‍ර පන්සියෙක, පරවාදයෙහි සූත්‍ර පන්සියෙකැයි සූත්‍ර දහසක් ඇරැගෙන මේ කථාවස්තුප්‍රකරණය වදාළහ යනු එහි අදහසයි.

'සකවාදයෙහි පන්සියෙක පරවාදයෙහි පන්සියෙකැ'යි සූත්‍ර දහසක් එළවා කථාවස්තු දෙසූහ. කථාවස්තුයෙහි වාදකථා දෙසියසතළොසෙකි. ඇතැම් ලබ්ධියක් පිහිටුවාලන්නට පරවාදී පක්‍ෂයෙන් ද, එය විශොධනය සඳහා සකවාදී පක්‍ෂයෙන් ද ඉදිරිපත් කළ සාධකදෙශනාසූත්‍ර බොහෝ ගණනෙකි. කිසි විටෙක එක් මැ සූත්‍රය කිහිපතැන යෙදී ඇත. මෙසේ කථාවස්තුප්‍රකරණයෙහි සූත්‍ර දහසෙක් ඇති සේ සැලැකිය යුතු ය.

කථාවස්තුප්‍රකරණයෙහි අෂ්ටමාතෘකායෙක් ඇතැ' යි කෙනෙක් කියති. හෙ ද සනාථකොට නැත. "**තථාගතෙන ඨපිත මාතිකං**" යී කථාවස්තු මාතෘකාව එකක් මැ බව මේ වාක්‍යයෙන් පැවසේ. අෂ්ටමාතෘකායෙක් වී නම්, "**තථාගතෙන ඨපිතාට්ඨමාතිකායො**"යී බුහුබසින් පවසනු ඇත. කථාවස්තු මාතෘකා කොහි වී යැ යත්: පුග්ගලපඤ්ඤත්ති මාතෘකා අවසනැ බණවරකට මඳක් අඩු පුද්ගල මාතෘකා ඇත. එ මැ කථාවස්තුයෙහි මාතෘකා වී යයි සිතම්හ. "අයං අට්ඨමුඛා නාම වාදයුත්ති නිද්දිට්ඨා හොති"යී කථාවත්ථුප්ප-කරණ පුග්ගලකථායෙහි මුලින් මැ එන වාදමුඛ අෂ්ටකය ගෙන කථාවස්තු ප්‍රකරණයට අෂ්ටමාතෘකාවක් ඇතැ'යි ගත් සේ ද? විමසන්න!

**බෞද්ධන්‍යාය:**

කථාවස්තු දෙශනාවෙන් යට දැක්වූ පරිදි වාදයුක්ති = වාදන්‍යාය ඉදිරිපත් කරමින් ඒ ඒ නිකායවාසීන් තථාගතසමයවිරොධි කොට ගත් ලබ්ධි විශොධනය කොට ඇත. එහෙයින් පවිත්‍ර වූ බෞද්ධන්‍යායයෙක් ඇත් නම්, මේ කථාවස්තුයෙහි එන වාදයුක්තික්‍රමය මැ යි. ජිනවචනානුයායී ස්ථවිරවාදයට විරොධී වැ සිටි **දිඞ්නාග, ධර්මකීර්ති, අසඞ්ග, වසුබන්ධු** ආදි කීර්තිමත් බෞද්ධ නෛයායිකයන් ඒ ඒ න්‍යායශාස්ත්‍ර නිපදවාලීමෙහි ප්‍රොත්සාහී වූයේ තමන් තමන් ගත් ලබ්ධිස්ථාන සනාථකිරීම සඳහා මැ ය. ඔවුනට ආදර්ශ වූයේත් උන් වාදෙන්මුඛ කොට යතාලූයේත් කථාවස්තුප්‍රකරණය මැ යි. එහෙත් කථාවස්තුයෙන් සකාරණ කොට ලබ්ධි විශොධනය කළ ද, ඇතැම් නිකායන්තරවාදීහු කථාවස්තු නො පිළිගත්හ. සවකීය දුර්ලබ්ධිය තර කිරීමට ම මඟ සෙවූහ. මේ විමසන්න:

**අන්තරාභවකථා:**

පූර්වශෛලීය-සම්මිතීය ඈදුරොල්හි වූවෝ **අඞ්ගුත්තරනිකාය** තිකනිපාතයෙහි වදාළ "සො පඤ්චන්නං ඔරම්භාගියානං සංයොජනානං පරික්ඛයා අන්තරාපරිනිබ්බායී හොති" යන සූත්‍රපදය නුනුවණින් ගෙන 'අන්තරාභවයෙක් ඇතැ'යි ද, මෙ ලොවින් සැවැ පරලොව ගිය සත්ත්වයා දිව්‍ය නැති වැ, දිවැස් ඇතියකු සෙයින් ද, ඍද්ධි නැති වැ ඍද්ධි ඇතියකු සෙයින් ද, මවුගේ ඔසප්කාලය ද මවුපියන්ගේ සඞ්ගමය ද බලමින් සතියක් හෝ අතිරෙක සතියක් පමණ කල් සිටුනේ යී ද, මරණයත් මවුකුස පිළිසඳ ගැනුමත් අතර කාලය **අන්තරාභව** නමැයි ද කීහු.

'අන්තරාපරිනිබ්බායි පුද්ගලයෙක් ඇතැ'යි යන හෙතුවින් අන්තරාභවයක් ඇතිවත් මැ උපහච්චපරිනිබ්බායී ආදි පුද්ගලයනුදු ඇතියෙන් උපහච්චභවාදිය ද ඇති වියැයුතු යැ. පරවාදීන් එබඳු භවයක් ප්‍රතිඥා නො කරන හෙයිනුදු, කාමරූපාදි භවයන් අතුරෙහි අන්තරාභවයක් නැති හෙයිනුදු, කාමාදි තුන් භවයන් හැර සතරවැනි භවයන් නැති හෙයිනුදු, අන්තරාභවූපග කර්මයක් නැති හෙයිනුදු, හැම සත්නට අන්තරාභවයක්

නැති හෙයිනුදු, එ කියන අන්තරාභවයෙහි වෙදනා සංඥාදිය නැති හෙයිනුදු, ජරාමරණ නැති හෙයිනුදු 'අන්තරාභවයෙක් නැතැ'යි කථාවස්තුයෙහි දී එ වාදය ඛණ්ඩනය කරනලද්දේ ය.

පසු වැ අන්තරාභවවාදීහු අන්තරාභවයෙක් ඇති මැ යයි දක්වන්නට තෙවළායෙන් සාධක සොයනුවෝ "තතො ත්වං බාහිය, නෙවිධ න හුරං න උභයමන්තරෙන" යන **උදානපාළි යැ** බාහිය සූත්‍රපාඨයෙහි එන **"උභය-මන්තරෙන"** යන පදය ද, **"භූතා වා සම්භවෙසී වා"** යන **සුත්තනිපාතයෙහි** කරණීයමෙත්තසූත්‍රපාඨය ද අර්ථ විපරීත කොට ප්‍රමාණ වශයෙන් ගත්හ. උදානපාළියට අටුවා ලියන භදන්ත **ධම්මපාලාචාරීන්** විසින් තථාගතාභිමත වූ අර්ථකථා විවරණ කරමින් එයිනුදු 'අන්තරාභවයෙක් ඇති'යි නො වදාළ බව හෙළි කරනලද්දේ ය.

උදාන අටුවා සම්පාදනයෙන් කලකට පසු වැ සර්වාස්තිවාදී නිකායික වූ **වසුබන්ධු** නම් ආචාර්යවරයා අන්තරාභවවාදය තව තවත් තර කරමින් යට දැක්වූ සූත්‍ර හා **මැදුම්සඟි යැ** මහාතණ්හාසඞ්ඛය සූත්‍රයෙහි "මාතාපිතරො ච සන්නිපතිතා හොන්ති, මාතා ච උතුනී හොති, ගන්ධබ්බො ච පච්චුපට්ඨිතො හොති" යී වදාළ තැන්හි **'ගන්ධබ්බො'** යනුයෙහි **"ගන්ධර්ව** = ගඳ අනුභව-කරන්නා-ගන්ධානුභවයට යන්නා" යි නිරුක්ති හෙයින් 'ගන්ධර්ව' නම් වූ යේ **අන්තරාභවික සත්ත්වයා** මැ යයි ගෙන **අභිධර්මකෝෂ** යෙහි ලොකධාතු නිර්දේශයෙහි කාරිකා කිහිපයෙකින් අන්තරාභවවාදය නඟාලී ය. එමතු ද? සංස්කාරප්‍රත්‍යයෙන් ප්‍රතිසන්ධිවිඥනයාගේ සම්භවය දක්වනු සඳහා අටුවායෙහි වදාළ ප්‍රතිබිම්බොපමාව ද වසුබන්ධුන් විසින් බැහැර කරනලද්දේ ය. (ප්‍රතිබිම්බං අසිද්ධත්වාත් අසාම්‍යාච්චානිදර්ශනම්.) එ ද අන්තරාභවවාදය තරකිරීමෙහි මඟක් වශයෙනි.

කථාවස්තුයෙහි "අන්තරාභවෙ අත්ථි රූපං වෙදනා සඤ්ඤා සඞ්ඛාරා විඤ්ඤාණං" යී අන්තරාභවයෙහි රූප වෙදනා සංඥා සංස්කාර විඥාන ඇද්ද? යන සකවාදී (ස්ථවිරවාදී) ප්‍රශ්නයට 'නැති' (න හෙවං වත්තබ්බෙ) යී පරවාදී (නිකායන්තරවාදී) පිළිතුර විය. එහෙත් අභිධර්මකොෂයෙහි (අසා-වෛෂ්‍යත් පූර්වකාලභවාකෘතිඃ) 'අන්තරාභවිකයා පූර්වකාලභවයට සමාන ආකෘති දරයි ද, (සකලෙන්ද්‍රියඃ) චක්ෂුරාදි සියලු ඉන්ද්‍රිය රූපයෙන් සංයුක්ත යයි ද, කියමින් පරවාදියා මුල දී බැහැර කළ කරුණු පසුව පිළිගෙන ඇති සැටි ද, 'අන්තරාභව උපපත්තිභව පූර්වකාලභව මරණභව' යී භව සතරක් නිර්මාණය කරමින් සද්ධර්මප්‍රතිරූප මවා ඇති සැටි ද විමැසියැයුතු ය.

**නිරයපාලකථා**:

"සකානි කම්මානි හනන්ති තත්ථ" යන නීතාර්ථ සූත්‍රපදය විපරිත කොට ගෙන, 'නිරයෙහි නිරයපාලයෝ නැති'යී ද, සවකීය 'නෛරයිකකර්මයෝ මැ නිරයපාලරූපයෙන් සිට නිරිසත්නට හිංසා කෙරෙති'යී ද **අන්ධකනිකාය වංශිහු** කියති. තිකඞ්ගුත්තර දෙවදූත සූත්‍රයෙන් ද මජ්ඣිමනිකාය – උපරිපණ්ණාසක – මහාදෙවදූත සූත්‍රයෙන් ද "තමෙනං භික්ඛවෙ නිරයපාලා පඤ්චවිධබන්ධනං නාම කාරණං කාරෙන්ති" යනාදි නොයෙක් සූත්‍ර දක්වා කථාවස්තුයෙහි දී ඒ නිරයපාලවාදය බැහැර කොට ඇත. එහෙත් පපඤ්ච-සූදනී මනොරථපූරණී අටුවා දෙක්හි මැ: "එකච්චෙ ථෙරා නිරයපාලා නාම නත්ථි, යන්තරූපං විය කම්මමෙව කාරණං කාරෙතීති වදන්ති. තං අත්ථි නිරයෙසු නිරයපාලාති, ආමන්තා, අත්ථි ච කාරණිකාති ආදිනා නයෙන

අභිධමෙම පටිසෙධිතමෙව'' සී මේ ආන්ධ්‍රකයන්ගේ වාදය ම "එකචෙච ථෙරා'' සී එකත්‍යවාදයක් ලෙස දක්වන ලද්දේ ය. ආන්ධ්‍රක නිකාය සතරින් ඇතැම් ඇදුරොලෙක් ස්ථවිරවාදීන්ට සමීපව සිටියා වනැ'යි සිතියැ යුතු ය. ආන්ධ්‍රකවාදයක් වූ නිරයපාලකථාව සඟිඅටුවාවට ආයේ එහෙයිනි. සමන්තපාසාදිකායෙහි ද බොහෝ තැනෙක අන්ධකයන්ගේ අටුවායෙන් නඟාගත් කරුණු සඳහන් ව ඇති සැටි ද සැලැකියැ යුතු ය.

**වාදයන්ට සම්බන්ධ නිකායාන්තරිකයෝ**:

කථාවස්තුප්‍රකරණයෙහි විශොධනයට භාජන වූ දෙසියසතළොසක් වාදකථාවන් අතුරෙන් එක්සැත්තෑවක් පමණ වාදයන්ට සම්බන්ධ වූවාහු යථොක්ත අන්ධක ඇදුරොලෙහි වූවෝ ය. පුබ්බසෙලීයාදි අන්ධක නිකායාන්තරිකයන් වෙන වෙන මැ උපදවාලූ වාදකථා ද ඇත. ඒ ඒ නිකායිකයන් තමන් තමන්ගේ ලබ්ධිවශයෙන් සම්බන්ධ වූ වාදකථා කථාවස්තුඅටුවායෙහි සඳහන් ලත් පරිදි මෙසේ යැ:

| | | | | | | | |
|---|---|---|---|---|---|---|---|
| 1. | අන්ධක | වාද | 71 | 9. | මහිංසාසක | වාද | 9 |
| 2 | උත්තරාපථක | ,, | 41 | 10. | අපරසෙලීය | ,, | 5 |
| 3. | මහාසංඝික | ,, | 32 | 11. | වෙතුල්ලක | ,, | 3 |
| 4. | පුබ්බසෙලීය | ,, | 27 | 12. | සබ්බත්ථවාදී | ,, | 2 |
| 5. | සම්මිතිය | ,, | 25 | 13. | වජ්ජිපුත්තක | ,, | 2 |
| 6. | රාජගිරික | ,, | 10 | 14. | කස්සපික | ,, | 1 |
| 7. | සිද්ධත්ථික | ,, | 10 | 15. | ගොකුලික | ,, | 1 |
| 8. | හෙතුවාදී | ,, | 10 | 16. | භද්‍රයානික | ,, | 1 |

**මහායානසම්භවය:**

අශොකාධිරාජ්‍යයෙහි නිකායාන්තරිකයන්ගේ පක්ෂබල හීන වූයෙන් ඔහු ප්‍රත්‍යන්ත ජනපදයන් කරා එළැඹැ නිශශබ්දලෙශයෙන් කල් යැවූහ. **ගන්ධාර** දෙශයෙහි **පුරුෂපුරය** (පෙෂාවර්) ඔවුන්ගේ මධ්‍යස්ථානය විය. බුදුන් පිරිනිවි සවැනි සියවසෙහි **කණිෂ්කාධිරාජයා** දඹදිවැ ආධිපත්‍යයට පැමිණි කල්හි එ රජු පහදවාගත් ඔහු එ රජුගේ මැ ආරාධනායෙන් පන්සියක් භික්ෂූහු එක් වැ ගෙන **කුණ්ඩලවන** විහාරයෙහි සඞ්ගීතියක් කළහ. එ වූ කලී මහාසංඝිකාදි නිකායවාසීන් නිපදවාලූ ග්‍රන්ථයනට 'විභාෂා' නම් ටීකාග්‍රන්ථ සම්පාදනය කිරීමෙකි. එ විභාෂා ග්‍රන්ථයන් පිළිගත් හැම නිකායිකයෝ මැ එක් වැ ගෙන **වෛභාෂික** නම් එක් ඇදුරොලක්බවට ගියහ. ඔහු හැම බුදුබවට පැමිණීමෙන් මැ නිර්වාණාධිගමය කළයුතු යැයි ගෙන, තුමූ මැ **මහායාන** නම් වූහු. විභාෂා නො පිළිගත් නිකායාන්තර කීපයක් හා අසම්භින්න ස්ථවිරවාදය හා **හීනයාන** යී නම් කළහ. ඒ උන්ගේ මානමදයෙන් කළ ආරොපණ මාත්‍රයෙකි·

කල් යාදී වෛභාෂිකයෝ විවිධ ලබ්ධිහෙතුයෙන් ම **'සර්වාස්තිවාදී** යැ, **සෞත්‍රාන්තික** යැ, **විඥානවාදී** යැ, **ශූන්‍යවාදී** යැයි කොටස් සතරකට බිඳීගියහ. ලබ්ධිවශයෙන් භින්න වුව ද ඔහු **නාලන්ද, වික්‍රමශිලා ඔදන්තපුරී** ආදි ස්ථාන මූලායතන කොටගෙන මහායානිකයන් වශයෙන් එක් වැ විසූහ·

**කථාවත්ථුයෙහි වාක්‍යප්‍රයෝග:**

කථාවත්ථුප්‍රකරණය විභාග කරනලද්දේ බුදුන් පිරිනිවි තුන්වැනි සියවසෙහි යැ. මේ කාලාන්තරයෙහි පාළිමාගධිකව්‍යවහාරයෙහි දී ඇතැම් ශබ්දප්‍රයෝගයන්ගේ යම් යම් වෙනස්වීම් සිදු වූ බව පෙනේ. තත්කාලීන-ව්‍යවහාරයෙහි පැවැති අයුරු යෙදුණු ශබ්දප්‍රයෝග කථාවත්ථුයෙහි දක්ක හැකි ය. (මේ ද කථාවත්ථුප්පකරණය රචනා කළ ග්‍රන්ථයක් නො ව මොග්ගලිපුත්තතිස්ස මහරහතුන් වහන්සේගේ දෙශනාවක් බවට සාධකයෙක් වෙයි.) එබඳු කිහිපතැනෙක් මෙසේ යැ:

**සච්චිකට්ඨ:**

මායා මරීචි ආදිය සෙයින් අභූත නො වූ, භූත වූ සත්‍ය වූ අර්ථය 'සච්චට්ඨ' යනු වේ. මේ අර්ථයෙහි 'සච්චිකට්ඨ' ශබ්දය ම කථාවත්ථුයෙහි බෙහෙවින් යෙදී ඇත.

**න හෙවං වත්තබ්බෙ:**

'න හි + එවං' යී විච්ඡේද යි. 'න හ එවං' යි හෝ වෙයි. 'හි' කිව ද, 'හ' කිව ද වාක්‍යපූරණයෙහි නිපාත යැ. 'එසේ නො කියැයුතු යැ' (න එවං වත්තබ්බං) යනු වේ.

**වත්තබ්බෙ:**

ලිඞ්ගාර්ථ එකත්වයෙහි 'සි' හට 'එ' වූ තැනි. සූත්‍රපාළියෙහිදු කිසිතැනෙක 'වනප්පගුම්බෙ ඵුස්සිතග්ගෙ' ආදියෙහි සෙයින් ඉතා විරල වැ මේ ප්‍රයෝගය ඇත ද කථාවත්ථුයෙහි 'නිග්ගහෙතබ්බෙ, දුන්නිග්ගහිතෙ, එකට්ඨෙ, තජ්ජාතෙ' ආදි පිසින් මේ ප්‍රයෝගය බහුල වැ දක්නට ඇත.

**සචෙ:**

'සචේ' හෝ 'යදි' (ඉදින්) ශබ්දාර්ථයෙහි නිපාත යැ. සූත්‍රපාළියෙහි දුර්ලභ වූ මේ අව්‍යයරූපය ද කථාවත්ථුයෙහි සුලභ වේ.

**ආමන්තා:**

ප්‍රතිඥයෙහි නිපාත යැ. අන් තන්හි 'ආම, ආමො, එවං' යී යෙදෙන ප්‍රතිජානනාර්ථය කථාවත්ථුයෙහි මේ යෙදෙන සැටි යි.

**හෙවං:**

මෙහි 'හ' කාර ආගමජ යි. 'එවං' යනු වේ. '**හෙවමෙවං, හෙතාය පටිඤ්ඤාය**' ආදි අනෙකස්ථලයෙහි පදාදි වූ ආගමහකාරය කථාවත්ථු-පාළියෙහි ඇත.

**එසෙ සෙ:**

'එසො සො' (තෙලෙ හේ මැ වෙයි.) නොහොත් 'එසො එසො' (තෙලෙ තෙලෙ මැ ය.) '**එසො එසො යෙව**' යනු වේ.

**හෙවත්ථි:**

මෙහි දු හකාර ආගම යැ. නිග්ගහිත සවරලොප යි. 'එව අත්ථි' යනු වේ. **හෙව නත්ථි** 'එවං නත්ථි' යනු වේ.

**සෙවත්ථි සෙව නත්ථි:**

'සො එව අත්ථි, සො එව නත්ථි' (හෙ මැ ඇත, හෙ මැ නැත) යනු වේ.

**අත්ථත්ථො නත්ථත්ථො:**

'අත්ථි සභාවො, නත්ථි සභාවො' අස්ත්‍යර්ථය නාස්ත්‍යර්ථය (ඇත යන සවභාව, නැත යන සවභාව) යනු වේ.

**නත්ථි නාතීතං:**

'නො අත්ථි, නො අතීතං' යනු වේ.

**කථාවත්ථුසංස්කරණය:**

කථාවත්ථුප්පකරණය කිහිප වරෙක සංස්කරණයෙන් මුද්‍රණය වී ඇත. බුද්ධජයන්ති සමයෙහි බුරුමරට දී සිදු කළ ඡට්ඨසඞ්ගායනාවෙනුදු සංස්කරණය ලැබ මුද්‍රණය විය. මේ වූ කලී නවීනතම සංස්කරණය විය හැකිය.

**බුද්ධජයන්ති ත්‍රිපිටකපාළි සංස්කරණය** නම්. ත්‍රිපිටක ග්‍රන්ථයන්හි දීර්ඝකාලාන්තරයෙහි ලේඛකදෝෂයෙන් ජනිත වූ අක්ෂර පද ව්‍යඤ්ජනයන් පිළිබඳ විපරීතතාවෙක් වේ නම් එය බැහැර කොට, ත්‍රිවිධ සඞ්ගායනාවට නැගී ගිය ශුද්ධ වූ පාඨය මැ මතු කොට ගැනීම ය. මේ කාර්‍යයෙහි ප්‍රබල වූ විද්‍යෝදය විශ්වවිද්‍යාලයෙහි සම්මාන උපකුලපති **ෂඩ්වාහෑර ශ්‍රී වජිරඤාණාභිධාන** නාහිමිපාණන් වහන්සේගේ ප්‍රමුඛත්වය ඇති බුද්ධජයන්ති ත්‍රිපිටක සංස්කාරක මණ්ඩලයෙන් කථාවත්ථුප්පකරණයේ සංස්කරණය සිදු වී ඇත. මේ සංස්කරණයෙන් ශුද්ධියට පත් පදපාඨ ඒ ඒ පිටුයෙහි පාඨාන්තර විසින් දක්වා ඇතියෙන් වෙන මැ සඳහන් නො කළ මනා යැ.

කථාවස්තුප්‍රකරණය තථාගතභාෂිතය පිළිබඳ පරවාදමර්ථනය සඳහා වාද ප්‍රතිවාදලේඛයෙන් වදාරනලද්දෙකි. එහෙයින් එහි ප්‍රණීත වූ න්‍යායමාර්ගයෙකුදු ඇත. (එය මෙහි මුල දී සැකෙවින් දක්විණි.) ග්‍රන්ථලාඝවය සඳහා ප්‍රශ්න දෙකක් තබා ප්‍රකරණය මුළුල්ල පෙය්‍යාලමුඛයෙන් සඞ්ග්‍රහ වී ඇත. මෙසේ එහි කථාමාර්ගය අතිශයින් දුරවබෝධය. මේ සංස්කරණයෙහි ලා හැම කථා මාර්ගයෙක මැ සකවාදී පරවාදී දෙ පක්ෂය ද, ඒ ඒ පක්ෂයෙහි පුච්ඡා පටිජානනා (පටිඤ්ඤා) අනුයෝග පටික්ඛෙප හා අනුලෝම පටිලෝම විසින් සිටි ඨපනා පාපනා ආරෝපනා හා නිග්ගහ ද වෙන් කොට දක්වෙයි. පුග්ගලකථාදි එක් එක් කථායෙහි බැසගෙන සිටි ප්‍රශ්න වෙන් කොට දක්වනු සඳහා අනුක්‍රමයෙන් අඞ්ක යොදා ඇත. එක් එක් අඞ්කය තුළ 'සකවාදී පුච්ඡා' 'පරවාදී පටිඤ්ඤා' ආදිය පිළිබඳ සංකේත පද ද පෙළ ඉදිරියෙහි යෙදිණ. ඒ ඒ පිටුවෙහි දක්වුණු පසින් දෙශනා පාළිය ද, හැම පාළි පිටුවක් ඉදිරිපිට යට කී ලෙසින් සංලක්ෂිත වූ සිංහල පරිවර්තනය ද යොදා ඇත.

**සිංහල පරිවර්තනය:**

**බුද්ධජයන්ති** උත්සව අනුස්මරණය සඳහා ලඞ්කාරාජ්‍යය විසින් **සම්මත** වූ විශිෂ්ටතම කාර්‍ය්‍යය වූයේ ත්‍රිපිටකය සිංහල භාෂාවට නගාලීම යි. ත්‍රිපිටකයෙහි ඇතැම් ග්‍රන්ථයෙක් නොයෙක්වර සන්න පිටපත් හා පරිවර්තන ද්වාරයෙන් නොයෙක් ලෙසින් සිංහලට නැඟී ඇත ද, ඇතැම් ග්‍රන්ථයෙක් එබඳු පරිවර්තනයකට කිසිකලෙක භාජන වී නැත. කථාවස්තුප්‍රකරණය ද එබඳු ග්‍රන්ථයෙකි. එයට අටුවා ටීකා අනුටීකා ඇත ද එ හැම ඉතා සංක්ෂිප්ත යැ. පෙළ විසින් ද කථාවස්තුප්‍රකරණය දුර්බෝධ යැ. එය පරිවර්තනය සඳහා **ලංකාබෞද්ධමණ්ඩලය** විසින් ආරාධිත වූවෝ ශ්‍රී ලඞ්කා දක්ෂිණදිශාභාගයෙහි ප්‍රධාන සඞ්ඝනායක තන් පැමිණියෝ යැ. ව්‍යාකරණ ඡන්දෝලඞ්කාරතර්කන්‍යායෛතිහාස සහිත ප්‍රාචීන භාෂා විෂයෙහි පණ්ඩිතෝපාධිය අයත්නයෙන් හිමිකරගතුවහ. ලක්දිවැ වත්මන් පඬිරුවන්වැලෙහි තරලමිණි වූවහ. ලේඛකයන් කෙරෙහි අග්‍රේසර ව්‍යක්ත වාදීවූ, අහංගම **විද්‍යාචන්ද්‍ර** පිරුවන් හිමියෝ ය. ඔබ **කෝදාගොඩ ශ්‍රී ඥානාලෝකාභිධාන** මහාස්ථවිරයන් වහන්සේ යි.

කථාවස්තුප්‍රකරණයෙහි සිංහල පරිවර්තනය සරල යැ, සුගම යැ. සිංහල සාහිත්‍යතරුවරයෙහි අරුත්රස වැහෙන නවතම අමාඵලයෙකි. කථාවස්තු කොටාරෙහි සැඟැවී සිටි අරුත්රුවන් පහයන මිණිපහනක් බඳු යි. එය ධර්මකාමීනට සගපවග නැඟුමට හිණිපෙතෙක් වේවයි අපගේ ආශංසනය වේ.

කථාවස්තු පිළිබඳ මේ සංඥපන සංලක්ෂණ සම්පාදනයෙහි දී අග්ගමහාපණ්ඩිත **බලන්ගොඩ ආනන්දමෛත්‍රෙය** මහානායකස්ථවිරපාදයන් වහන්සේ අපට උපස්තම්භක වැ සිටි බව ද, පණ්ඩිත **කරහම්පිටිගොඩ සුමනසාර** ස්ථවිරයන් වහන්සේ ඇතැම් කරුණු සංසන්දනායෙහි සහාය වූ බව ද මෙහි ලා පවසම්හ.

**ලබුගම ලඞ්කානන්ද ස්ථවිර.**

බුද්ධවර්ෂ 2511.
ප්‍රවචනෝදය පිරිවෙන,
මොල්ලිගොඩ,
වාද්දුව.

## සඞ්කෙත නිරූපණය

[ග්‍රන්ථයෙහි යෙදී ඇති සඞ්කෙත]

ස. පු: ... සකවාදී පුච්ඡා,

ප. පටිඤ්ඤා: ... පරවාදී පටිඤ්ඤා,

ස. අනු: ... සකවාදී අනුයොගො,

ප. පටි: ... පරවාදී පටික්ඛෙපො,

ප. පු: ... පරවාදී පුච්ඡා,

ස. පටිඤ්ඤා: ... සකවාදී පටිඤ්ඤා:

ප. අනු: ... පරවාදී අනුයොගො,

ස. පටි: ... සකවාදී පටික්ඛෙපො,

අනු. ඨ: ... අනුලොම ඨපනා,

අනු. පා: ... අනුලොම පාපනා,

අනු. ආ: ... අනුලොම ආරොපනා,

පටි. ඨ: ... පටිලොම ඨපනා,

පටි. පා: ... පටිලොම පාපනා,

පටි. ආ: ... පටිලොම ආරොපනා,

ස. නි: ... සකවාදී නිග්ගහො,

ප. නි: ... පරවාදී නිග්ගහො,

ස. නිග: ... සකවාදී නිගමනං,

ප. නිග: ... පරවාදී නිගමනං,

ස. වි: ... සකවාදී විස්සජ්ජනා,

ප. වි: ... පරවාදී විස්සජ්ජනා.

### පොත්ථක සඞ්කෙත

සී. මු: ... සීහලක්ඛර – මුද්දිත පොත්ථකං,

සයා: ... සයාමක්ඛර – මුද්දිත පොත්ථකං,

මජසං: ... මරම්මඡට්ඨසඞ්ගීතිපිටක – පොත්ථකං,

PTS. .... Pali Text Society Edition.

# THE PALI ALPHABET

## IN SINHALA CHARACTERS.

## VOWELS

අa ආā ඉi ඊī උu ඌū එe ඔo

## CONSONANTS

කka ඛkha ගga ඝgha ඞṅa

චca ඡcha ජja ඣjha ඤña

ටṭa ඨṭha ඩḍa ඪḍha ණṇa

තta ථtha දda ධdha නna

පpa ඵpha බba භbha මma

යya රra ලla වva සsa හha ළḷa අංṃ

| | | | | | | | |
|---|---|---|---|---|---|---|---|
| කka | කාkā | කිki | කීkī | කුku | කූkū | කෙkē | කොkō |
| ඛkha | ඛාkhā | ඛිkhi | ඛීkhī | ඛුkhu | ඛූkhū | ඛෙkhe | ඛොkhō |
| ගgā | = | = | = | = | = | = | = |

## Conjunct - Consonants

කකkka
කඛkkha
ක්‍යkya
ක්‍රිkri
ක්වkva
ඛ්වkhva
ඛ්‍යkhya
ගගgga
ගඝggha
ඞකṅka
ග්‍රgra
ඞඛṅkha
ඞගṅga
ඞඝṅgha
චචcca
චඡccha
ජජjja
ජඣjjha

ඤඤññā
ඤහñha
ඤචñca
ඤ්ඡ,ඡ්ඡñcha
ඤ්ජ,ජ්ජñja
ඤඣñjha
ටටṭṭa
ටඨ,ඨ්ඨṭṭha
ඩඩḍḍa
ඩඪḍḍha
ණණṇṇa
ණටṇṭa
ණඨṇṭha
ණඩ,ඬṇḍa
ණහṇha
තතtta
තථttha
ත්වtva

ත්‍රtra
දදdda
දධddha
ද්‍රdra
ද්ව,ද්වdva
ධ්වdhva
නතnta
නථntha
නදnda
නධndha
නනnna
නහnha
පපppa
පඵppha
බබbba
බභbbha
බ්‍රbra
මපmpa

මඵmpha
මබ,ඹmba
මභmbha
මමmma
මහmha
යය,ය්‍යyya
යහyha
ලලlla
ල්‍යlya
ලහlha
වහwha
සසssa
සමsma
ස්වsva
හමhma
හවhva
ළහḷha

ා ā ි i ී ī ු u ූ ū ෙ e ො ō

අභිධම්මපිටකෙ

# කථාවත්ථුප්පකරණපාළියා

## පඨමභාග - විසයසූචි



දුතියො වග්ගො නිට්ඨිතො.

# ශුද්ධි පත්‍රය

| පිටුව | පෙළ | අශුද්ධ | ශුද්ධ |
|---|---|---|---|
| 3 | 7 | අප්‍රත්‍යෑදී | අප්‍රත්‍යාදී |
| 3 | 9 | ජලවෑදයට | ජලවාදයට |
| 12 | 3 | සච්චකාටෙඨා | සච්චිකාටෙඨා |
| 12 | 7 | පටිාපාදනා | පටිපාදනා |
| 42 | 15 | අත්තහිතාංය | අත්තහිතාය |
| 160 | 27 | ස: පටිඤ්ඤා | ප: පටිඤ්ඤා |
| 301 | 1 | වීතරාග වූයේ- අනාගාමි ඵලයෙහි | වීතරාග වූයේ ධර්මාභිසමය හා සමග අනාගාමි ඵලයෙහි |
| 480 | 8 | පරපටිබද්ධිහු | පරපටිබද්ධහු |

# ඌනපූරණ

**524** වැනි පිටුවෙහි **5** වැනි ප්‍රශ්නය අගට මේ කොටස එක් වියයුතු:

ස. පු: තෙ ධම්මා චිත්තෙන ලහුපරිවත්තනාති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

ස. අනු: නනු වුත්තං භගවතා "සෙය්‍යථාපි භික්ඛවෙ මක්කටො අරඤ්ඤෙ පවනෙ චරමානො සාඛං ගණ්හාති, තං මුඤ්චිත්වා අඤ්ඤං ගණ්හාති, තං මුඤ්චිත්වා අඤ්ඤං ගණ්හාති, එවමෙවං ඛො භික්ඛවෙ යදිදං වුච්චති චිත්තං ඉතිපි මනො ඉතිපි විඤ්ඤාණං ඉතිපි තං රත්තියා ච දිවසස්ස ච අඤ්ඤදෙව උප්පජ්ජති අඤ්ඤං නිරුජ්ඣතී'ති අත්ථෙව සුත්තන්තො'ති.[a]

ප. පටිඤ්ඤා: ආමන්තා.

ස. නිග: තෙන හි න වත්තබ්බං: තෙ ධම්මා චිත්තෙන ලහුපරිවත්තනාති.

**525** වැනි පිටුවෙහි **5** වැනි ප්‍රශ්නය අගට මේ කොටස එක් වියයුතු:

ස. පු. ඒ දහම්හු සිතට වඩා වහා පෙරළෙනසුලු වෙත් ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: භාග්‍යවතුන් වහන්සේ විසින් වදාරන ලද මැනු: "මහණෙනි, යම් පරිදි මකුළුවෙක් අරනැ මහවල්හි ඇවිදුනේ ශාඛාවක් ගන්නේ වේ ද, එ පියා අනෙකක් ගන්නේ වේ ද, එ පියා අනෙකක් ගන්නේ වේ ද, මහණෙනි, එ පරිදි මැ 'චිත්ත' යයි ද 'මන' යයි ද 'විඤ්ඤාණ' යයි ද යම් දෑයෙක් කියන ලද ද, එය රැය ද දහවල ද අනෙකෙක්ව මැ උපදනේ යැ, අනෙ-කෙක්ව මැ නිරුද්ධ වේ"යයි වදාළ සූත්‍රාන්තයෙක් ඇත්තේ මැ නු?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. නිග: එ කරුණින් 'ඒ දහම්හු සිතට වඩා වහා පෙරළෙන සුල්ලහ'යි නො කියැයුතු මැ යැ.

---

a නිදානසංයුත්ත - අස්සුතවාසුත්ත.

# අභිධම්මපිටකෙ

# කථාවත්ථුප්පකරණං

## නමො තස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස.

## පඨමො වග්ගො

## 1. 1.

## පුග්ගලකථා

**1.** සකවාදීපුච්ඡා: පුග්ගලො උපලබ්භති සච්චිකට්ඨපරමත්ථෙනා'ති.[1]

පරවාදීපටිඤ්ඤා: ආමන්තා.

සකවාදීඅනුයොගො: යො සච්චිකට්ඨො පරමත්ථො[2] තතො සො පුග්ගලො උපලබ්භති සච්චිකට්ඨපරමත්ථෙනා'ති.[1]

පරවාදීපටික්ඛෙපො: නහෙවං වත්තබ්බෙ.

සකවාදීනිග්ගහො: ආජානාහි නිග්ගහං.

---

1 සච්ඡිකට්ඨපරමට්ඨෙනාති - සයා

2 සච්ඡිකට්ඨො පරමට්ඨො - සයා

# අභිධර්මපිටකයෙහි

# කථාවස්තුප්‍රකරණය

## ඒ භගවත් අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේට නමස්කාර වේවා.

## ප්‍රථම වර්ගය

### 1. 1

### පුද්ගලකථා

**[ අප බුදුන් පිරිනිවි දෙවන සියවසෙහි ‘ථෙරවාද’යෙන් බිඳිගිය ‘වජ්ජිපුත්තක’ නම් ඇදුරොලෙක්හු, තත්ප්‍රභව වූ ‘සම්මිතිය’ නම් ඇදුරොලෙක්හු යි ඇදුරොල්හු දෙදෙනෙක් වූහ. ඔහු බුදුන් විසින් “අත්ථිපුග්ගලො අත්තහිතාය පටිපන්නො” යනාදීන් සම්මතසත්‍ය විසින් සඞ්කෙතවචනයෙන් වදාළ සූත්‍රප්‍රදේශයෙහි අර්ථ වරදවා ගෙන, භූතාර්ථයෙන් පුද්ගලයෙක් සත්ත්වයෙක් ඇති’යි අභිනිවේශ කොට ජලචන්ද්‍රන්‍යායයෙන් විපරීතග්‍රාහ ඇති වූහ. සප්‍රත්‍යය - අප්‍රත්‍යාදි විසින් විභක්ත සප්‍රපඤ්චාංශන් ස්කන්ධායතනධාතු ආදි ධර්මප්‍රභේදමාත්‍ර වන් මුත් යථාර්ථයෙන් පුද්ගලයෙකු නැතියෙන් උන්ගේ ජල්වාදයට අවකාශ නො දෙනු සඳහා පළමු මැ තෙල “පුද්ගලකථා” ආරබ්ධ යි. ]**

1. සකවාදීපුච්ඡා: සත්‍යාර්ථ (=භූතාර්ථ) පරමාර්ථ (=ආත්මප්‍රත්‍යක්ෂ සඞ්ඛ්‍යාත උත්තමාර්ථ) වශයෙන් පුද්ගලයෙක් (=ආත්මයෙක්,) උපලභ්‍යමාන වේ ද? (නුවණ එළවා දන්නා ලැබේ ද?)

පරවාදීපටිඤ්ඤා: එසේ යැ.

සකවාදීඅනුයොග: යම් (ස්කන්ධ – ආයතන – ධාතු – ඉන්ද්‍රිය විසින් ඇති සත්පනස් ප්‍රභෙද වූ) සත්‍යාර්ථයෙක් පරමාර්ථයෙක් වේ ද, ඒ හෙතුවින් සත්‍යාර්ථ පරමාර්ථ ධර්ම වශයෙන් එ පුද්ගල දන්නා ලැබේ ද? (සත්පනස් ධර්මයන් කෙරෙහි රූපාදීන්ගේ රූපනාදි ආකාර-යෙන් දක්නා සත්‍යාර්ථ පරමාර්ථයෙක් ඇත් ද? තොප කියන පුද්ගලත් ඒ ආකාරයෙන් ලැබේ ද?)

පරවාදීපටික්ඛෙප: එසේ නො කියැයුතු යැ.

සකවාදීනිග්ගහ: නිග්‍රහය පිළිගනුව.

අනුලොමඨපනා: හඤ්චි පුග්ගලො උපලබ්භති සච්චිකට්ඨපරමත්ථෙන,

අනුලොමපාපනා: තෙන වත රෙ වත්තබ්බෙ යො සච්චිකට්ඨො–පරමත්ථො[1] තතො සො පුග්ගලො උපලබ්භති සච්චිකට්ඨපරමත්ථෙනා'ති.

අනුලොම ආරොපනා: යං තත්ථ වදෙසි: වත්තබ්බෙ ඛො පුග්ගලො උපලබ්භති සච්චිකට්ඨපරමත්ථෙන, නො ච වත්තබ්බෙ යො සච්චිකට්ඨො පරමත්ථො තතො සො පුග්ගලො උපලබ්භති සච්චිකට්ඨපරමත්ථෙ–නා'ති මිච්ඡා.

පටිලොමඨපනා: නො චෙ පන වත්තබ්බෙ යො සච්චිකට්ඨො පරමත්ථො තතො සො පුග්ගලො උපලබ්භති සච්චිකට්ඨපරමත්ථෙනා'ති

පටිලොමපාපනා: නො ච වත රෙ වත්තබ්බෙ පුග්ගලො උපලබ්භති සච්චිකට්ඨපරමත්ථෙනා'ති.

පටිලොම ආරොපනා: යං තත්ථ වදෙසි: වත්තබ්බෙ ඛො පුග්ගලො උපලබ්භති සච්චිකට්ඨපරමත්ථෙන, නො ච වත්තබ්බෙ යො සච්චිකට්ඨො පරමත්ථො තතො සො පුග්ගලො උපලබ්භති සච්චිකට්ඨපරමත්ථෙ–නා'ති මිච්ඡා.

**අනුලොම පඤ්චකං.**

**2.** පරවාදීපුච්ඡා: පුග්ගලො නූපලබ්භති සච්චිකට්ඨපරමත්ථෙනා'ති [2]

සකවාදීපටිඤ්ඤා: ආමන්තා.

පරවාදිඅනුයොගො: යො සච්චිකට්ඨො පරමත්ථො තතො සො පුග්ගලො නූපලබ්භති සච්චිකට්ඨපරමත්ථෙනා'ති?

ස. පටික්ඛෙපො: නහෙවං වත්තබ්බෙ.

පරවාදීපටිකම්මං: ආජානාහි පටිකම්මං.

1. සච්ඡිකාට්ඨො පරමට්ඨො - සයා
2. සච්ඡිකට්ඨපරමත්ථෙනාති - සයා.

අනුලෝමඨපනා: ඉදින් සත්‍යාර්ථ පරමාර්ථ වශයෙන් පුද්ගල දන්නා ලැබේ නම්,

අනුලෝමපාපනා: භවත, එහෙයින් (තොප විසින්) යම් සත්‍යාර්ථයෙක් පරමාර්ථයෙක් වේ ද, එ සත්‍යාර්ථ පරමාර්ථ ධර්ම වශයෙන් එ පුද්ගල දන්නා ලැබේ යැ යි කියැයුතු මැ යැ.

අනුලෝම ආරෝපනා: සත්‍යාර්ථ පරමාර්ථ වශයෙන් පුද්ගල දන්නා ලැබේ යැ යි කියැයුතු යැ යි ද, යම් සත්‍යාර්ථයෙක් පරමාර්ථයෙක් වේ ද, ඒ සත්‍යාර්ථ පරමාර්ථ ධර්ම වශයෙන් එ පුද්ගල දන්නා ලැබේ යැ යි නො කියැයුතු යැ යි ද යන යම් බසක් එහි ලා කියෙහි නම් මෙ තොපගේ මිථ්‍යායෙකි.

පටිලෝමඨපනා. යම් සත්‍යාර්ථයෙක් පරමාර්ථයෙක් වේ ද, එ සත්‍යාර්ථ පරමාර්ථ ධර්ම වශයෙන් එ පුද්ගල දන්නා ලැබේ යැ යි ඉදින් නො කියැයුතු නම්, භවත, (තොප විසින්) සත්‍යාර්ථ පරමාර්ථ වශයෙන් පුද්ගල දන්නා ලැබේ යැ යි නො ද කියැයුතු මැ යැ.

පටිලෝමපාපනා: සත්‍යාර්ථ පරමාර්ථ වශයෙන් පුද්ගල දන්නා ලැබේ යැ යි ද,

පටිලෝම ආරෙපනා: යම් සත්‍යාර්ථයෙක් පරමාර්ථයෙක් වේ ද, එ සත්‍යාර්ථ පරමාර්ථ ධර්ම වශයෙන් එ පුද්ගල දන්නා ලැබේ යැ යි නො කියැයුතු යැ යි ද යම් බසක් එහි ලා කියෙහි නම් මෙ තොපගේ මිථ්‍යායෙකි.

**අනුලෝම පඤ්චක යි.**

**2.** පරවාදීපුච්ඡා: සත්‍යාර්ථ පරමාර්ථ වශයෙන් පුද්ගල නො දන්නා ලැබේ ද?

සකවාදීපටිඤ්ඤා. එසේ යැ (නො දන්නා ලැබේ).

පරවාදීඅනුයොග: යම් සත්‍යාර්ථයෙක් පරමාර්ථයෙක් වේ ද, එ හෙතු-වින් සත්‍යාර්ථ පරමාර්ථ ධර්ම වශයෙන් නො දන්නා ලැබේ ද?

සකවාදීපටික්ඛෙප: එසේ නො කියැයුතු යැ. (සම්මති – පරමාර්ථ සත්‍ය දෙක මිශ්‍ර කොට ඇසූයෙන් මෙසේ ප්‍රතික්ෂිප්ත යි).

පරවාදීපටිකම්ම: මෙ ප්‍රතික්‍රියාව පිළිගනුව.

අනුලොමට්ඨපනා: හඤ්චි පුග්ගලො නූපලබ්භති සච්චිකට්ඨපරමට්ඨෙන,

අනුලොමපාපනා: තෙන වත රෙ වත්තබ්බෙ යො සච්චිකට්ඨො පරමට්ඨො තතො සො පුග්ගලො නූපලබ්භති සච්චිකට්ඨපරමට්ඨෙනා'ති.

අනුලොම ආරොපනා: යං තත්ථ වදෙසි: 'වත්තබ්බෙ ඛො පුග්ගලො නූප-ලබ්භති සච්චිකට්ඨපරමට්ඨෙන, නො ච වත්තබ්බෙ යො සච්චිකට්ඨො පරමට්ඨො තතො සො පුග්ගලො නූපලබ්භති සච්චිකට්ඨපරමට්ඨෙනා'ති මිච්ඡා.

පටිලොමට්ඨපනා: නො චෙ පන වත්තබ්බෙ යො සච්චිකට්ඨො පරමට්ඨො තතො සො පුග්ගලො නූපලබ්භති සච්චිකට්ඨපරමට්ඨෙනා'ති.

පටිලොමපාපනා: නො ච වත රෙ වත්තබ්බෙ පුග්ගලො නූපලබ්භති සච්චිකට්ඨපරමට්ඨෙනා'ති.

පටිලොම ආරොපනා: යං තත්ථ වදෙසි: වත්තබ්බෙ ඛො පුග්ගලො නූපලබ්භති සච්චිකට්ඨපරමට්ඨෙන, නො ච වත්තබ්බෙ යො සච්චිකට්ඨො පරමට්ඨො තතො සො පුග්ගලො නූපලබ්භති සච්චිකට්ඨපරමට්ඨෙ-නා'ති මිච්ඡා.

**පටිකම්මචතුක්කං.**

**3.** ප. නි. ත්වං චෙ පන මඤ්ඤසි: වත්තබ්බෙ ඛො පුග්ගලො නූපලබ්භති සච්චිකට්ඨපරමට්ඨෙන, නො ච වත්තබ්බෙ යො සච්චිකට්ඨො පරමට්ඨො තතො සො පුග්ගලො නූපලබ්භති සච්චිකට්ඨපරමට්ඨෙ-නා'ති, තෙන තව තත්ථ හෙතාය පටිඤ්ඤාය හෙවං පටිජානන්තං හෙවං නිග්ගහෙතබ්බෙ. අථ තං නිග්ගණ්හාම. සුනිග්ගහීතො ච හොසි.

අනු. ඨ: හඤ්චි පුග්ගෙලො නූපලබ්භති සච්චිකට්ඨ පර-මට්ඨෙන,

අනු. පා: තෙන වත රෙ වත්තබ්බෙ යො සච්චිකට්ඨො පරමට්ඨො තතො සො පුග්ගලො නූපලබ්භති සච්චිකට්ඨපරමට්ඨෙනා'ති.

කයින් යම් මැ ස්පර්ශයක් ස්පර්ශ කෙරේ නම්...සිතින් යම් මැ දහමක් දන්නේ නම්, ඉෂ්ටරූපයක් මැ දන්නේ යැ, අනිෂ්ටරූපයක් නො දන්නේ යැ. කාන්තරූපයක් මැ දන්නේ යැ, අකාන්තරූපයක් නො දන්නේ යැ. මනාපරූපයක් මැ දන්නේ යැ, අමනාපරූපයක් නො දන්නේ යැ'' යි වදාළ සූත්‍රාන්තයෙක් ඇත්තේ මැ නු?

ප. පටිඤ්ඤා: එසේ යැ.

අනු. පා: එ කරුණින් සර්වසංස්කාරයෝ අවිශෙෂ කොට හුණුහළු වැනියහයි නො කියැයුතු යැ.

**7**. ප. පු: 'සර්වසංස්කාරයෝ අනවධි කොට හුණුහළු වැනියහ'යි නො කියැයුතු ද?

ස. පටිඤ්ඤා: එසේ යැ.

ප. අනු: 'යමක් අනිත්‍ය වේ නම් ඒ දුඃඛ' යයි භාග්‍යවතුන් වහන්සේ විසින් වදාරන ලද මැ නො? සර්වසංස්කාරයෝ අනිත්‍ය වෙත් ද?

ස. පටිඤ්ඤා: එසේ යැ.

අනු. ඨ: භාග්‍යවතුන් වහන්සේ විසින් "යමක් අනිත්‍ය වේ නම් එය දුඃඛ යැ'' යි වදාරන ලද වේ නම්, සර්වසංස්කාරයෝ අනිත්‍ය වෙත් නම්,

අනු. පා: හවත, සර්වසංස්කාරයෝ අනවධි කොට උණුහළු වැනියහ'යි කියැයුතු මැ යැ.

**8**. ස පු: සර්වසංස්කාරයෝ මර්‍යාදා භෙද කොට කුසකුළ වැනි වෙත් ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: දානය අනිෂ්ටඵල වේ ද, අකාන්තඵල වේ ද, අමනොඥඵල වේ ද, සෙචනකඵල වේ ද, දුක් වඩන්නේ වේ ද, දුඃඛවිපාක වේ ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

ස. අනු: සීලය ... උපොෂථය ... භාවනාව ... බ්‍රහ්මචර්‍යය අනිෂ්ටඵල වේ ද, අකාන්තඵල වේ ද, අමනොඥ-ඵල වේ ද, සෙචනකඵල වේ ද, දුක් වඩන්නේ වේ ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

ස. අනු: දානය ඉෂ්ටඵල කාන්තඵල මනොඥඵල අසෙච-නකඵල ඇත්තේ වේ ද, සුව වඩන්නේ වේ ද, සුඛවිපාක වේ ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

අනු. ථ: හඤ්චි දානං ඉට්ඨඵලං කන්තඵලං මනුඤ්ඤඵලං අසෙචනකඵලං සුඛුද්‍රයං සුඛවිපාකං,

අනු. පා: නො ච වත රෙ වත්තබ්බෙ: සබ්බෙ සඞ්ඛාරා අනොධිං කත්වා කුක්කුළාති.

ස අනු: නනු සීලං -පෙ- උපොසථො -පෙ- භාවනා -පෙ- බ්‍රහ්මචරියං ඉට්ඨඵලං කන්තඵලං මනුඤ්ඤඵලං අසෙචනකඵලං සුඛුද්‍රයං සුඛවිපාකන්ති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

අනු. ථ: හඤ්චි බ්‍රහ්මචරියං ඉට්ඨඵලං කන්තඵලං මනුඤ්ඤ-ඵලං අසෙචනකඵලං සුඛුද්‍රයං සුඛවිපාකං.

අනු. පා: නො ච වත රෙ වත්තබ්බෙ: සබ්බෙ සඞ්ඛාරා අනොධිං කත්වා කුක්කුළාති.

**9**. ස. පු: සබ්බෙ සඞ්ඛාරා අනොධිං කත්වා කුක්කුළාති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

ස. අනු: නනු වුත්තං භගවතා:

"සුඛො විවෙකො තුට්ඨස්ස
සුතධම්මස්ස පස්සතො,
අබ්‍යාපජ්ජං සුඛං ලොකෙ
පාණභූතෙසු සංයමො.

සුඛා විරාගතා ලොකෙ
කාමානං සමතික්කමො,
අස්මිමානස්ස යො විනයො
එතං වෙ පරමං සුඛං"[a]

"තං සුඛෙන සුඛං පත්තං
අච්චන්තසුඛමෙව තං,
තිස්සො විජ්ජා අනුප්පත්තා
එතං වෙ පරමං සුඛන්ති"

අත්ථෙව සුත්තන්තො'ති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

අනු. පා: තෙන හි න වත්තබ්බං: සබ්බෙ සඞ්ඛාරා අනොධිං කත්වා කුක්කුළාති.

**කුක්කුළකථා නිට්ඨිතා.**

---

1. සුඛවිපාකන්ති - සිමු.

a. උදානපාළි - මුචලින්දවග්ග, පඨමසුත්ත.

අනු. ඨ: ඉදින් දානය ඉෂ්ටඵල කාන්තඵල මනොඥඵල අසෙචනකඵල ඇත්තේ වේ නම්, සුව වඩන්නේ වේ නම්, සුඛවිපාක වේ නම්,

අනු. පා: හවත, සියලු සංස්කාරයෝ මයඹාද නො කොට උණුහළු වැන්නහ' යි නො කියයුතු යැ.

ස. අනු: ශීලය ... උපොසථය ... භාවනාව ... බ්‍රහ්මචර්‍ය්‍යය ඉෂ්ටඵල කාන්තඵල මනොඥඵල අසෙචනකඵල ඇත්තේ වේ ද, සුව වඩන්නේ වේ ද, සුඛවිපාක වේ ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

අනු. ඨ: ඉදින් බ්‍රහ්මචර්‍ය්‍යය ඉෂ්ටඵල කාන්තඵල මනොඥඵල අසෙචනකඵල ඇති නම්, සුව වඩන්නේ නම්, සුඛවිපාක වේ නම්,

අනු. ඨ: හවත, 'සර්‍වසංස්කාරයෝ මයඹාද නො කොට උණුඅළු වැනියහ' යි නො කියයුතු යැ.

9. ස. පු: සර්‍වසංස්කාරයෝ අනවධි කොට කුක්කුළ සදෘශ වෙත් ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: භාග්‍යවතුන් වහන්සේ විසින් වදාරන ලද මැ නො:

"(චතුර්මාර්ගඥනසන්තොෂයෙන්) තුෂ්ට වූ ප්‍රකාශිත ධර්‍ම ඇති (වීර්‍ය්‍යබලාධිගතඥන චක්ෂුසින්) බලන්නහුට නිර්‍වාණ සඞ්ඛ්‍යාත උපධිවිවෙකය සුඛ වෙයි. ලොකයෙහි ප්‍රාණීන් කෙරෙහි සංයම යයි කියන ලද නො තිපෙන බව සුඛ වෙයි.

කාමයන්ගේ සමතික්‍රම සඞ්ඛ්‍යාත විරාගතාව ලොකයෙහි සුඛ වෙයි. අස්මිමානයාගේ යම් ප්‍රතිප්‍රශ්‍රබ්ධිවිනයෙක් ඇද්ද, තෙල එකාන්තයෙන් පරමසුඛ වෙයි"

"එහෙයින් සුඛයෙන් සුඛයට පැමිණීමෙක් ඇද්ද, ඒ අත්‍යන්තසුඛ මැ වෙයි. ත්‍රිවිධ විද්‍යාවෝ ලබන ලදහු ද තෙල එකාන්තයෙන් පරමසුඛ වෙති"යි සූත්‍රාන්තයෙක් ඇත්තේ මැ නු?

ප. පටිඤ්ඤා: එසේ යැ.

අනු. පා: එකරුණින් 'සර්‍වසංස්කාරයෝ අනවධි කොට උෂ්ණහස්ම සදෘශයහ'යි නො කියයුතු යැ.

**කුක්කුළකථා නිමි.**

2. 9.

## අනුපුබ්බාභිසමයකථා.

**1.** ස. පු: අනුපුබ්බාභිසමයො'ති.
ප. පටිඤ්ඤා: ආමන්තා.
ස. අනු: අනුපුබ්බෙන සොතාපත්තිමග්ගං භාවෙතී'ති.
ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-
ස. පු: අනුපුබ්බෙන සොතාපත්තිමග්ගං භාවෙතී'ති.
ප. පටිඤ්ඤා: ආමන්තා.
ස. අනු: අනුපුබ්බෙන සොතාපත්තිඵලං සච්ඡිකරොතී'ති.
ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

**2.** ස. පු: අනුපුබ්බාභිසමයො'ති.
ප. පටිඤ්ඤා: ආමන්තා.
ස. අනු: අනුපුබ්බෙන සකදාගාමිමග්ගං භාවෙතී'ති.
ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-
ස. පු: අනුපුබ්බෙන සකදාගාමිමග්ගං භාවෙතී'ති.
ප. පටිඤ්ඤා: ආමන්තා.
ස. අනු: අනුපුබ්බෙන සකදාගාමිඵලං සච්ඡිකරොතී'ති.
ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

**3.** ස. පු: අනුපුබ්බාභිසමයො'ති.
ප. පටිඤ්ඤා: ආමන්තා.
ස. අනු: අනුපුබ්බෙන අනාගාමිමග්ගං භාවෙතී'ති.
ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-
ස. පු: අනුපුබ්බෙන අනාගාමිමග්ගං භාවෙතී'ති.
ප. පටිඤ්ඤා: ආමන්තා.
ස. අනු. අනුපුබ්බෙන අනාගාමිඵලං සච්ඡිකරොතී'ති.
ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

## 2. 9.

# අනුපුබ්බාභිසමයකථා.

**['සොවත්ඵල පසක් කරන්නට පිළිපන් පුඟුල්හට දුඃඛදර්ශනයෙන් ද, සමුදය නිරොධ මාර්ගදර්ශනයෙන් ද යි මෙසේ සොළොස් කොටසෙකින් අනුක්‍රමයෙන් ක්ලෙශප්‍රහාණ කොට අභිත්සමප්‍රතිලාභ ඇති'යි නානාභිසමය ලබ්ධි ගත් වාදීහු ඇත. අන්ධක සබ්බත්ථික සම්මිතිය භද්‍රයානික යන් සෙයිනි. උන්ගේ ලබ්ධි විවෙචනයට අනුපුබ්බාභිසමයකථා එයි.]**

**1.** ස. පු: අනුපූර්වාභිසමයයෙක් ඇද්ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: අනුපූර්ව වශයෙන් ශ්‍රොතාපත්තිමාර්ගය භාවා ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

ස. පු: අනුපූර්ව වශයෙන් ශ්‍රොතාපත්තිමාර්ගය භාවා ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: අනුපූර්ව වශයෙන් ශ්‍රොතාපත්තිඵලය ප්‍රත්‍යක්ෂ කෙරේ ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ

**2.** ස. පු: අනුපූර්වාභිසමයයෙක් ඇද්ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: අනුපූර්ව වශයෙන් සකෘදාගාමිමාර්ගය භාවා ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

ස. පු: අනුපූර්ව වශයෙන් සකෘදාගාමීමාර්ගය භාවා ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: අනුපූර්ව වශයෙන් සකෘදාගාමිඵලය ප්‍රත්‍යක්ෂ කෙරේ ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

**3.** ස. පු: අනුපූර්වාභිසමයයෙක් ඇද්ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: අනුපූර්ව වශයෙන් අනාගාමීමාර්ගය භාවා ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

ස. පු: අනුපූර්ව වශයෙන් අනාගාමීමාර්ගය භාවා ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: අනුපූර්ව වශයෙන් අනාගාමිඵලය ප්‍රත්‍යක්ෂ කෙරේ ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ....

| | |
|---|---|
| **4**. ස. පු: | අනුපුබ්බාභිසමයෝ'ති. |
| ප. පටිඤ්ඤා: | ආමන්තා. |
| ස. අනු: | අනුපුබ්බෙන අරහත්තමග්ගං භාවෙතී'ති. |
| ප. පටි: | න හෙවං වත්තබ්බෙ -පෙ- |
| ස. පු: | අනුපුබ්බෙන අරහත්තමග්ගං භාවෙතී'ති. |
| ප. පටිඤ්ඤා: | ආමන්තා. |
| ස. අනු: | අනුපුබ්බෙන අරහත්තඵලං සච්ඡිකරොතී'ති. |
| ප. පටි. | න හෙවං වත්තබ්බෙ -පෙ- |
| **5**. ස. පු: | සොතාපත්තිඵලසච්ඡිකිරියාය පටිපන්නො පුග්ගලො දුක්ඛදස්සනෙන කිං ජහතී'ති. |
| ප. වි: | සක්කායදිට්ඨිං විචිකිච්ඡං සීලබ්බතපරාමාසං තදෙකට්ඨෙ ච කිලෙසෙ චතුභාගං ජහතී'ති. |
| ස. අනු: | චතුභාගං සොතාපන්නො, චතුභාගං න සොතාපන්නො, චතුභාගං සොතාපත්තිඵලප්පත්තො පටිලද්ධො අධිගතො සච්ඡිකතො උපසම්පජ්ජ විහරති, කායෙන ඵුසිත්වා විහරති, චතුභාගං න කායෙන ඵුසිත්වා විහරති. චතුභාගං සත්තක්ඛත්තුපරමො කොලංකොලො එකබීජී, බුද්ධෙ අවෙච්චප්පසාදෙන සමන්නාගතො ධම්මෙ -පෙ- සඞ්ඝෙ -පෙ- අරියකන්තෙහි සීලෙහි සමන්නාගතො, චතුභාගං න අරියකන්තෙහි සීලෙහි සමන්නාගතො'ති. |
| ප. පටි: | න හෙවං වත්තබ්බෙ -පෙ- |
| **6**. ස. පු: | සමුදයදස්සනෙන -පෙ- නිරොධදස්සනෙන -පෙ- මග්ගදස්සනෙන කිං ජහතී'ති. |
| ප. වි: | සක්කායදිට්ඨිං විචිකිච්ඡං සීලබ්බතපරාමාසං තදෙකට්ඨෙ ච කිලෙසෙ චතුභාගං ජහතී'ති. |
| ස. අනු: | චතුභාගං සොතාපන්නො, චතුභාගං න සොතාපන්නො, චතුභාගං සොතාපත්තිඵලප්පත්තො පටිලද්ධො අධිගතො සච්ඡිකතො උපසම්පජ්ජ විහරති, කායෙන ඵුසිත්වා විහරති, චතුභාගං න කායෙන ඵුසිත්වා විහරති. චතුභාගං සත්තක්ඛත්තුපරමො කොලංකොලො එකබීජී, බුද්ධෙ අවෙච්චප්පසාදෙන සමන්නාගතො ධම්මෙ -පෙ- සඞ්ඝෙ -පෙ- අරියකන්තෙහි සීලෙහි සමන්නාගතො. චතුභාගං න අරියකන්තෙහි සීලෙහි සමන්නාගතො'ති. |
| ප. පටි: | න හෙවං වත්තබ්බෙ -පෙ- |

**4.** ස. පු: අනුපූර්වාභිසමයයෙක් ඇද්ද?

ප පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: අනුපූර්ව වශයෙන් අෂ්ටමාර්ගය භාවා ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

ස. පු: අනුපූර්ව වශයෙන් අෂ්ටමාර්ගය භාවා ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: අනුපූර්ව වශයෙන් අෂ්ටඵලය ප්‍රත්‍යක්ෂ කෙරේ ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

**5.** ස. පු: සෝවත්ඵල පසක් කරනු පිණිස පිළිපන් පුහුල් දුඃඛ දර්ශනයෙන් කුමක් බැහැර කෙරේ ද?.

ප. වි: සත්කායදෘෂ්ටි විචිකිත්සා ශීලව්‍රතපරාමර්ශ තදෙකස්ථ කෙලශ දැ යි (මෙහි) චතුර්භාගයක් බැහැර කෙරෙයි.

ස. අනු: චතුර්භාගයක් සෝවන් වූයේත් චතුර්භායක් සෝවන් නො වූයේත් චතුර්භාගයක් ශ්‍රොතාපත්තිඵලප්‍රාප්ත වූයේත් ප්‍රතිලබ්ධ වූයේත් අධිගත වූයේත් සාක්ෂාත්කෘත වූයේත් උපසාගෙන වාස කෙරේ ද, නාමකයින් සපර්ශ කොට වාස කෙරේ ද, චතුර්භාගයක් නාමකයින් සපර්ශ නො කොට වාස කෙරේ ද, චතුර්භාගයක් සත්තක්ඛත්තුපරම සොතාපන්න වූයේත් කොලංකොල සොතාපන්න වූයේත් එකබීජි සොතාපන්න වූයේත්, බුද්ධරතන-යෙහි අවෙත්‍යප්‍රසාදයෙන් සමන්‍වාගත වූයේත්, ධර්මරතනයෙහි ... සඞ්ඝරතනයෙහි ... ආර්‍ය්‍යකාන්ත ශීලයෙන් සමන්‍වාගත වූයේත්, චතුර්භාගයක් ආර්‍ය්‍ය-කාන්තශීලයෙන් සමන්‍වාගත නො වූයේත් වේ ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

**6.** ස. පු: සමුදයදර්ශනයෙන් ... නිරොධදර්ශනයෙන් ... මාර්ගදර්ශනයෙන් කුමක් බැහැර කෙරේ ද?

ප. වි: සත්කායදෘෂ්ටි විචිකිත්සා ශීලව්‍රතපරාමර්ශ තදෙකස්ථ කෙලශ දැ යි මෙහි චතුර්භාගයක් බැහැර කෙරෙයි.

ස. අනු: චතුර්භාගයක් සෝවන් වූයේ ද චතුර්භාගයක් සෝවාන් නො වූයේ ද චතුර්භාගයක් සොතාපත්ති ඵලප්‍රාප්ත වූයේ ද ප්‍රතිලබ්ධ වූයේ අධිගත වූයේ සාක්ෂාත්කෘත වූයේ උපසාගෙන වාස කෙරේ ද, නාම කයින් සපර්ශ කොට වාස කෙරේ ද, චතුර්භාගයක් නාමකයින් සපර්ශ නො කොට වාස කෙරේ ද, චතුර්භාගයක් සත්තක්ඛත්තුපරම සොතාපන්න වූයේත් කොලංකොලසොතාපන්න වූයේත් එකබීජිසොතාපන්න වූයේත්, බුද්ධරතන යෙහි අවෙත්‍යප්‍රසාදයෙන් යුක්ත වූයේත්, ධර්ම-රතනයෙහි ... සඞ්ඝරතනයෙහි ... ආර්‍ය්‍යකාන්ත ශීලයෙන් සමන්‍වාගත වූයේත් චතුර්භාගයක් ආර්‍ය්‍ය-කාන්ත ශීලයෙන් සමන්‍වාගත නො වූයේත් වේ ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

**7.** ස. පු: සකදාගාමිඵලසච්ඡිකිරියාය පටිපන්නො පුග්ගලො දුක්ඛදස්සනෙන කිං ජහතී'ති.

ප. වි: ඔළාරිකං කාමරාගං ඔළාරිකං බ්‍යාපාදං තදෙකට්ඨෙ ච කිලෙසෙ චතුභාගං ජහතී'ති.

ස. අනු: චතුභාගං සකදාගාමී චතුභාගං න සකදාගාමී, චතුභාගං සකදාගාමිඵලප්පත්තො පටිලද්ධො අධිගතො සච්ඡිකතො උපසම්පජ්ජ විහරති, කායෙන ඵුසිත්වා විහරති, චතුභාගං න කායෙන ඵුසිත්වා විහරතී'ති.

ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

**8.** ස. පු: සමුදයදස්සනෙන -පෙ- නිරොධදස්සනෙන -පෙ- මග්ගදස්සනෙන කිං ජහතී'ති.

ප. වි: ඔළාරිකං කාමරාගං ඔළාරිකං බ්‍යාපාදං තදෙකට්ඨෙ ච කිලෙසෙ චතුභාගං ජහතී'ති.

ස. අනු: චතුභාගං සකදාගාමී, චතුභාගං න සකදාගාමී, චතුභාගං සකදාගාමිඵලප්පත්තො පටිලද්ධො අධිගතො සච්ඡිකතො උපසම්පජ්ජ විහරති, කායෙන ඵුසිත්වා විහරති, චතුභාගං න කායෙන ඵුසිත්වා විහරතී'ති.

ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

**9.** ස. පු: අනාගාමිඵලසච්ඡිකිරියාය පටිපන්නො පුග්ගලො දුක්ඛදස්සනෙන කිං ජහතී'ති.

ප. වි: අණුසහගතං කාමරාගං අණුසහගතං බ්‍යාපාදං තදෙකට්ඨෙ ච කිලෙසෙ චතුභාගං ජහතී'ති.

ස. අනු: චතුභාගං අනාගාමී, චතුභාගං න අනාගාමී, චතුභාගං අනාගාමිඵලප්පත්තො පටිලද්ධො අධිගතො සච්ඡිකතො උපසම්පජ්ජ විහරති, කායෙන ඵුසිත්වා විහරති, චතුභාගං න කායෙන ඵුසිත්වා විහරති, චතුභාගං අන්තරාපරිනිබ්බායී -පෙ- උපහච්චපරිනිබ්බායී -පෙ- අසඞ්ඛාරපරිනිබ්බායී -පෙ- සසඞ්ඛාරපරිනිබ්බායී -පෙ- උද්ධංසොතො අකණිට්ඨගාමී, චතුභාගං න උද්ධංසොතො අකණිට්ඨගාමී'ති.

ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

**7.** ස. පු: සෙදගැමිඵල පසක් කරන්නට පිළිපන් පුහුල් දුඃඛදර්ශනයෙන් කුමක් බැහැර කෙරේ ද?

ප. වි: ඖලාරිකකාමරාග ඖලාරිකව්‍යාපාද තදෙකසථ ක්ලෙශ දැයි (මෙහි) චතුර්භාගයක් බැහැර කෙරෙයි.

ස. අනු: චතුර්භාගයක් සකෘදාගාමී වූයේත් චතුර්භාගයක් සකෘදාගාමී නො වූයේත් චතුර්භාගයක් සකෘදාගාමි-ඵලප්‍රාප්ත වූයේත් ප්‍රතිලබ්ධ වූයේත් අධිගත වූයේත් සාක්ෂාත්කෘත වූයේත් උපයාගෙන වාස කෙරේ ද, නාමකයින් සපර්ශ කොට වාස කෙරේ ද, චතුර්භාගයක් නාමකයින් සපර්ශ නො කොට වාස කෙරේ ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

**8.** ස. පු: සමුදයදර්ශනයෙන් ... නිරොධදර්ශනයෙන් ... මාර්ග-දර්ශනයෙන් කුමක් බැහැර කෙරේ ද?

ප. වි: ඖලාරික කාමරාග ඖලාරික ව්‍යාපාද තදෙකසථ ක්ලෙශ දැ යි (මෙහි) චතුර්භාගයක් බැහැර කෙරෙයි.

ස. අනු: චතුර්භාගයක් සකෘදාගාමී වූයේත් චතුර්භාගයක් සකෘදාගාමී නො වූයේත් චතුර්භාගයක් සකෘදාගාමි-ඵලප්‍රාප්ත වූයේත් ප්‍රතිලබ්ධ වූයේත් අධිගත වූයේත් සාක්ෂාත්කෘත වූයේත් උපයාගෙන වාස කෙරේ ද, නාමකයින් සපර්ශ කොට වාස කෙරේ ද, චතුර්භාගයක් නාමකයින් සපර්ශ නො කොට වාස කෙරේ ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

**9.** ස. පු: අනාගැමිඵල පසක් කරන්නට පිළිපන් පුහුල් දුඃඛදර්ශනයෙන් කුමක් බැහැර කෙරේ ද?

ප. වි: අණුසහගත කාමරාග අණුසහගත ව්‍යාපාද තදෙකසථ ක්ලෙශ දැ යි මෙහි චතුර්භාගයක් බැහැර කෙරෙයි.

ස. අනු: චතුර්භාගයක් අනාගාමී වූයේත් චතුර්භාගයක් අනාගාමී නො වූයේත් චතුර්භාගයක් අනාගාමිඵල-ප්‍රාප්ත වූයේත් ප්‍රතිලබ්ධ වූයේත් අධිගත වූයේත් සාක්ෂාත්කෘත වූයේත් උපයා වාස කෙරේ ද, නාමකයින් සපර්ශ කොට වාස කෙරේ ද, චතුර්භාගයක් නාමකයින් සපර්ශ නො කොට වාස කෙරේ ද, චතුර්භාගයක් අන්තරාපරි-නිබ්බායී වූයේත් ... උපහච්චපරිනිබ්බායී වූයේත් ... අසඞ්ඛාරපරිනිබ්බායී වූයේත් ... සසඞ්ඛාරපරි-නිබ්බායී වූයේත් ... උද්ධංසොතඅකණිට්ඨගාමී වූයේත් චතුර්භාගයක් උද්ධංසොතඅකණිට්ඨගාමී නො වූයේත් වේ ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

**10.** ස. පු: සමුදයදස්සනෙන -පෙ- නිරොධදස්සනෙන -පෙ- මග්ගදස්සනෙන කිං ජහතී'ති.

ප. වි: අණුසහගතං කාමරාගං අණුසහගතං බ්‍යාපාදං තදෙකට්ඨෙ ච කිලෙසෙ චතුභාගං ජහතී'ති.

ස. අනු: චතුභාගං අනාගාමී, චතුභාගං න අනාගාමී, චතුභාගං අනාගාමිඵලප්පත්තො පටිලද්ධො අධිගතො සච්ඡිකතො උපසම්පජ්ජ විහරති, කායෙන ඵුසිත්වා විහරති, චතුභාගං න කායෙන ඵුසිත්වා විහරති, චතුභාගං අන්තරාපරිනිබ්බායී -පෙ- උපහච්චපරිනිබ්බායී -පෙ- අසඞ්ඛාරපරිනිබ්බායී -පෙ- සසඞ්ඛාරපරිනිබ්බායී -පෙ- උද්ධංසොතො අකණිට්ඨගාමී, චතුභාගං න උද්ධංසොතො අකණිට්ඨගාමී'ති.

ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

**11.** ස. පු: අරහත්තඵලසච්ඡිකිරියාය පටිපන්නො පුග්ගලො දුක්ඛදස්සනෙන කිං ජහතී'ති.

ප. වි: රූපරාගං අරූපරාගං මානං උද්ධච්චං අවිජ්ජං තදෙකට්ඨෙ ච කිලෙසෙ චතුභාගං ජහතී'ති.

ස. අනු: චතුභාගං අරහා, චතුභාගං න අරහා, චතුභාගං අරහත්තප්පත්තො පටිලද්ධො අධිගතො සච්ඡිකතො උපසම්පජ්ජ විහරති, කායෙන ඵුසිත්වා විහරති, චතුභාගං න කායෙන ඵුසිත්වා විහරති, චතුභාගං වීතරාගො -පෙ- වීතදොසො -පෙ- වීතමොහො -පෙ- කතකරණීයො ඔහිතභාරො අනුප්පත්තසදත්ථො පරික්ඛීණභවසඤ්ඤොජනො සම්මදඤ්ඤාවිමුත්තො උක්ඛිත්තපලිඝො සඞ්කිණ්ණපරිඛො අබ්බූළ්හෙසිකො නිරග්ගළො අරියො පන්නද්ධජො පන්නභාරො විසඤ්ඤුත්තො සුවිජිතවිජයො, දුක්ඛං තස්ස පරිඤ්ඤාතං සමුදයො පහීනො නිරොධො සච්ඡිකතො මග්ගො භාවිතො, අභිඤ්ඤෙය්‍යං අභිඤ්ඤාතං පරිඤ්ඤෙය්‍යං පරිඤ්ඤාතං පහාතබ්බං පහීනං භාවෙතබ්බං භාවිතං -පෙ- සච්ඡිකාතබ්බං සච්ඡිකතං, චතුභාගං සච්ඡිකාතබ්බං න සච්ඡිකතන්ති.

ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

**10.** ස. පු: සමුදයදර්ශනයෙන් ... නිරොධ දර්ශනයෙන් ... මාර්ග දර්ශනයෙන් කුමක් බැහැර කෙරේ ද?

ප. වි: අණුසහගත කාමරාග අණුසහගත ව්‍යාපාද තදෙකස්ථ ක්ලේශ දැයි මෙහි චතුර්භාගයක් බැහැර කෙරෙයි.

ස. අනු: චතුර්භාගයක් අනාගාමී වූයේත් චතුර්භාගයක් අනාගාමී නො වූයේත් චතුර්භාගයක් අනාගාමි-ඵලප්‍රාප්ත වූයේත් ප්‍රතිලබ්ධ වූයේත් අධිගත වූයේත් සාක්ෂාත්කෘත වූයේත් උපයා වාස කෙරේ ද, නාමකායින් ස්පර්ශ කොට වාස කෙරේ ද, චතුර්භාගයක් නාමකායින් ස්පර්ශ නො කොට වාස කෙරේ ද, චතුර්භාගයක් අන්තරාපරිනිබ්බායී වේ ද .. උපහච්චපරිනිබ්බායී වූයේත්... අසඞ්ඛාරපරිනිබ්බායී වූයේත් ... සසඞ්ඛාරපරිනිබ්බායී වූයේත් ... උද්ධංසොත අකණිට්ඨගාමී වූයේත් වේ ද, චතුර්භාගයක් උද්ධංසොත අකණිට්ඨගාමී නො වූයේත් වේ ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

**11.** ස. පු: අර්හත්ත්වඵල ප්‍රත්‍යක්ෂ කරන්නට පිළිපන් පුහුල් දුඃඛ දර්ශනයෙන් කුමක් බැහැර කෙරේ ද?

ප. වි: රූපරාග අරූපරාග මාන ඖද්ධත්‍ය අවිද්‍යා ද තදෙකස්ථ ක්ලේශ දැයි මෙහි චතුර්භාගයක් බැහැර කෙරෙයි.

ස. අනු: චතුර්භාගයක් රහත් වූයේත් චතුර්භාගයක් රහත් නො වූයේත් චතුර්භාගයක් අර්හත්ත්වප්‍රාප්ත වූයේත් ප්‍රතිලබ්ධ වූයේත් අධිගත වූයේත් සාක්ෂාත්කෘත වූයේත් නිපයා වාස කෙරේ ද, නාමකායින් ස්පර්ශ කොට වාස කෙරේ ද, චතුර්භාගයක් නාමකායින් ස්පර්ශ නො කොට වාස කෙරේ ද, චතුර්භාගයක් වීතරාග වූයේ ... වීතද්වේෂ වූයේ ... වීතමෝහ වූයේ.. කළ කරණී ඇතියේ බහාලූ කෙලෙස්බර ඇතියේ පැමිණි ස්වාර්ථ ඇතියේ ක්ෂය වැ ගිය භවසංයෝජන ඇතියේ මනාව දැන මිදුණේ ඔසවාලූ කෙලෙස් කණයම ඇතියේ විසුරුවාලූ කෙලෙස් පිරි ඇතියේ උගුළුවාලූ කෙලෙස් ඉන්ද්‍රකීල ඇතියේ අගුළු රහිත වූයේ ආර්‍ය වූයේ පතිතමානධ්වජ ඇතියේ පතිත ක්ලේශභාර ඇතියේ විසංයුක්ත වූයේ මොනවට දිනූ කෙලෙස් විජය ඇතියේ, ඔහු විසින් දුඃඛය පරිඥාත වූයේ සමුදය ප්‍රහීණ වූයේ නිරොධය සාක්ෂාත්කෘත වූයේ මාර්ගය භාවිත වූයේ, අභිඥෙය ධර්ම අභිඥාත වූයේ පරිඥෙයධර්ම පරිඥාත වූයේ ප්‍රහාතව්‍යධර්ම ප්‍රහීණ වූයේ භාවිතව්‍යධර්ම භාවිත වූයේ.. සාක්ෂාත්කර්තව්‍ය ධර්ම සාක්ෂාත්කෘත වූයේ ද, චතුර්භාගයක් සාක්ෂාත්කර්තව්‍යධර්ම සාක්ෂාත්කෘත නො වූයේ වේ ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ..

**12**. ස. පු: සමුදයදස්සනෙන -පෙ- නිරොධදස්සනෙන -පෙ- මග්ගදස්සනෙන කිං ජහතී'ති.

ප. වි: රූපරාගං අරූපරාගං මානං උද්ධච්චං අවිජ්ජං තදෙකට්ඨෙ ච කිලෙසෙ චතුභාගං ජහතී'ති.

ස. අනු: චතුභාගං අරහා, චතුභාගං න අරහා, චතුභාගං අරහත්තප්පත්තො පටිලද්ධො අධිගතො සච්ඡිකතො උපසම්පජ්ජ විහරති, කායෙන ඵුසිත්වා විහරති, චතුභාගං න කායෙන ඵුසිත්වා විහරති, චතුභාගං වීතරාගො -පෙ- වීතදොසො -පෙ- වීතමොහො -පෙ- කතකරණීයො ඔහිතභාරො අනුප්පත්තසදත්ථො පරික්ඛීණභවසඤ්ඤොජනො සම්මදඤ්ඤාවිමුත්තො උක්ඛිත්තපලිඝො සංකිණ්ණපරිඛො අබ්බූළ්හෙසිකො නිරග්ගළො අරියො පන්නද්ධජො පන්නභාරො විසඤ්ඤුත්තො සුවිජිතවිජයො, දුක්ඛං තස්ස පරිඤ්ඤාතං සමුදයො පහීනො නිරොධො සච්ඡිකතො මග්ගො භාවිතො, අභිඤ්ඤෙය්‍යං අභිඤ්ඤාතං පරිඤ්ඤෙය්‍යං පරිඤ්ඤාතං පහාතබ්බං පහීනං භාවෙතබ්බං භාවිතං -පෙ- සච්ඡිකාතබ්බං සච්ඡිකතං, චතුභාගං සච්ඡිකාතබ්බං න සච්ඡිකතන්ති.

ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

**13**. ස. පු: සොතාපත්තිඵලසච්ඡිකිරියාය පටිපන්නො පුග්ගලො දුක්ඛං දක්ඛන්තො 'පටිපන්නකො'ති වත්තබ්බො'ති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

ස. අනු: දුක්ඛෙ දිට්ඨෙ, ඵලෙ ඨිතො'ති වත්තබ්බො'ති.

ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

ස. පු: සමුදයං දක්ඛන්තො -පෙ- නිරොධං දක්ඛන්තො 'පටිපන්නකො'ති වත්තබ්බො'ති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

ස. අනු: නිරොධෙ දිට්ඨෙ, ඵලෙ ඨිතො'ති වත්තබ්බො'ති.

ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

**12.** ස. පු: සමුදයදර්ශනයෙන් ... නිරොධදර්ශනයෙන් ... මාර්ගදර්ශනයෙන් කුමක් බැහැර කෙරේ ද?

ප. වි: රූපරාග අරූපරාග මාන ඖද්ධත්‍ය අවිද්‍යා තදෙකසථ ක්ලෙශ දැයි මෙහි චතුර්භාගයක් බැහැර කෙරෙයි.

ස. අනු: චතුර්භාගයක් රහත් වූයේ ද, චතුර්භාගයක් රහත් නො වූයේ ද, චතුර්භාගයක් අර්හත්වප්‍රාප්ත වූයේ ප්‍රතිලබ්ධ වූයේ අධිගත වූයේ සාක්ෂාත්කෘත වූයේ උපසා වාස කෙරේ ද, නාමකායින් සපර්ශ කොට වාස කෙරේ ද, චතුර්භාගයක් නාමකායින් සපර්ශ නො කොට වාස කෙරේ ද, චතුර්භාගයක් වීතරාග වූයේ ... විතදොෂ වූයේ ... වීතමොහ වූයේ ... කළ කරණී ඇතියේ බහාලූ කෙලෙස් බර ඇතියේ ලැබූ ස්වාර්ථ ඇතියේ ක්ෂය වැ ගිය භවසංයොජන ඇතියේ මොනොවට දැන මිදුණේ පෙරළු කෙලෙස් කණයම ඇතියේ විසුරුවාහළ කෙලෙස් පිරි ඇතියේ උපුළු කෙලෙස් නමැති ඉන්ද්‍රකීල ඇතියේ කෙලෙස් අගුළු නැතියේ ආර්ය වූයේ පතිතමානධවජ ඇතියේ පතිතක්ලෙශභාර ඇතියේ විසංයුක්ත වූයේ මොනොවට දිනූ කෙලෙස් විජය ඇතියේ, ඔහු විසින් දුඃඛය පරිඥෙත වූයේ සමුදය ප්‍රහීණ වූයේ නිරොධය සාක්ෂාත්කෘත වූයේ මාර්ගය භාවිත වූයේ, අභිඥෙයධර්ම අභිඥෙත වූයේ පරිඥෙයධර්ම පරිඥෙත වූයේ ප්‍රහාතව්‍යධර්ම ප්‍රහීණ වූයේ භාවිතව්‍යධර්ම භාවිත වූයේ ... සාක්ෂාත්කර්තව්‍යධර්ම සාක්ෂාත්කෘත වූයේ ද, චතුර්භාගයක් සාක්ෂාත්කර්තව්‍යධර්ම සාක්ෂාත්කෘත නො වූයේ ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

**13.** ස. පු: සොවත්ඵල පසක් කරන්නට පිළිපන් පුහුල් දුක් දක්නේ ‘පිළිපන්නෙකැ’යි කියැයුතු වේ ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු. දුක් දුටු කල ‘ඵලයෙහි සිටියෙකැ’යි කියැයුතු වේ ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

ස. පු: සමුදය දක්නේ ... නිරොධය දක්නේ ‘පිළිපන්නෙ–කැ’යි කියැයුතු වේ ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: නිරොධය දුටු කලැ ‘ඵලයෙහි සිටියෙකැ’යි කියැයුතු වේ ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

**14.** ස. පු: සොතාපත්තිඵලසච්ඡිකිරියාය පටිපන්නො පුග්ගලො මග්ගං දක්ඛන්තො 'පටිපන්නකො'ති වත්තබ්බො. මග්ගෙ දිට්ඨෙ ඵලෙ ඨිතො'ති වත්තබ්බො'ති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

ස. අනු: දුක්ඛං දක්ඛන්තො 'පටිපන්නකො'ති වත්තබ්බො. දුක්ඛෙ දිට්ඨෙ ඵලෙ ඨිතො'ති වත්තබ්බො'ති.

ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

**15.** ස. පු: මග්ගං දක්ඛන්තො 'පටිපන්නකො'ති වත්තබ්බො. මග්ගෙ දිට්ඨෙ ඵලෙ ඨිතො'ති වත්තබ්බො'ති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

ස. අනු: සමුදයං දක්ඛන්තො -පෙ- නිරොධං දක්ඛන්තො 'පටිපන්නකො'ති වත්තබ්බො. නිරොධෙ දිට්ඨෙ ඵලෙ ඨිතො'ති වත්තබ්බො'ති.

ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

**16.** ස. පු: සොතාපත්තිඵලසච්ඡිකිරියාය පටිපන්නො පුග්ගලො දුක්ඛං දක්ඛන්තො 'පටිපන්නකො'ති වත්තබ්බො. දුක්ඛෙ දිට්ඨෙ න වත්තබ්බං ඵලෙ ඨිතො'ති වත්තබ්බො'ති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

ස. අනු: මග්ගං දක්ඛන්තො 'පටිපන්නකො'ති වත්තබ්බො. මග්ගෙ දිට්ඨෙ න වත්තබ්බං ඵලෙ ඨිතො'ති වත්තබ්බො'ති.

ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

ස. පු: සමුදයං දක්ඛන්තො -පෙ- නිරොධං දක්ඛන්තො 'පටිපන්නකො'ති වත්තබ්බො. නිරොධෙ දිට්ඨෙ න වත්තබ්බං ඵලෙ ඨිතො'ති වත්තබ්බො'ති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

ස. අනු: මග්ගං දක්ඛන්තො 'පටිපන්නකො'ති වත්තබ්බො. මග්ගෙ දිට්ඨෙ න වත්තබ්බං ඵලෙ ඨිතො'ති වත්තබ්බො'ති.

ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

**17.** ස. පු: සොතාපත්තිඵලසච්ඡිකිරියාය පටිපන්නො පුග්ගලො දුක්ඛං දක්ඛන්තො 'පටිපන්නකො'ති වත්තබ්බො. දුක්ඛෙ දිට්ඨෙ න වත්තබ්බං ඵලෙ ඨිතො'ති වත්තබ්බො'ති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

**14.** ස. පු: සොවත්ඵල පසක් කරන්නට පිළිපන් පුහුල් මාර්ගය දක්නේ 'පිළිපන්නෙකැ'යි කියැයුතු යැ. මාර්ගය දුටු කලැ ඵලයෙහි සිටියෙකැයි කියැයුතු වේ ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: දුක් දක්නේ 'පිළිපන්නෙකැ'යි කියැයුතු යැ. දුක දුටු කලැ ඵලයෙහි සිටියෙකැයි කියැයුතු වේ ද?

ප. පටි: එසේ නො කියැයුතු යැ ...

**15.** ස. පු: මාර්ගය දක්නේ 'පිළිපන්නෙකැ'යි කියැයුතු යැ. මාර්ගය දුටු කල ඵලයෙහි සිටියෙකැයි කියැයුතු වේ ද?

ප පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: සමුදය දක්නේ ... නිරොධය දක්නේ 'පිළිපන්නෙ-කැ'යි කියැයුතු යැ. නිරොධය දුටු කල ඵලයෙහි සිටියෙකැයි කියැයුතු වේ ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

**16.** ස. පු: සොවත්ඵල පසක් කරන්නට පිළිපන් පුහුල් දුක දක්නේ 'පිළිපන්නෙකැ'යි කියැයුතු යැ. දුක දුටු කල ඵලයෙහි සිටියෙකැයි කියැයුතු යැ යනු නො කියැයුතු ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: මාර්ගය දක්නේ 'පිළිපන්නෙකැ'යි කියැයුතු යැ. මාර්ගය දුටු කල ඵලයෙහි සිටියෙකැයි කියැයුතු යැ යනු නො කියැයුතු ද?

ප. පටි: එසේ නො කියැයුතු යැ ...

ස. පු: සමුදය දක්නේ ... නිරොධයදක්නේ 'පිළිපන්නෙ-කැ'යි කියැයුතු යැ. නිරොධය දුටු කලැ ඵලයෙහි සිටියෙකැයි කියැයුතු යැ යනු නො කියැයුතු ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: මාර්ගය දක්නේ 'පිළිපන්නෙකැ'යි කියැයුතු යැ. මාර්ගය දුටු කල ඵලයෙහි සිටියෙකැයි කියැයුතු යැ යනු නො කියැයුතු ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

**17.** ස. පු: සොවත්ඵල පසක් කරන්නට පිළිපන් පුහුල් දුක් දක්නේපි 'ළිපන්නෙකැ'යි කියැයුතු යැ. දුක් දුටු කල ඵලයෙහි සිටියෙකැයි කියැයුතු යැ යනු නො කියැයුතු ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: නිරත්ථියං[1] දුක්ඛදස්සනන්ති.

ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

**18.** ස. පු: සමුදයං දක්ඛන්තො -පෙ- නිරොධං දක්ඛන්තො 'පටිපන්නකො'ති වත්තබ්බො. නිරොධෙ දිට්ඨෙ න වත්තබ්බං ඵලෙ ඨිතො'ති වත්තබ්බො'ති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

ස. අනු: නිරත්ථියං නිරොධදස්සනන්ති.

ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

**19.** ප. පු: දුක්ඛෙ දිට්ඨෙ චත්තාරි සච්චානි දිට්ඨානි හොන්තී'ති.

ස. පටිඤ්ඤා: ආමන්තා.

ප. අනු: දුක්ඛසච්චං චත්තාරි අරියසච්චානී'ති.

ස. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

**20.** ස. පු: රූපක්ඛන්ධෙ අනිච්චතො දිට්ඨෙ පඤ්චක්ඛන්ධා අනිච්චතො දිට්ඨා හොන්තී'ති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

ස. අනු: රූපක්ඛන්ධො පඤ්චක්ඛන්ධො'ති.

ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

**21.** ස. පු: චක්ඛායතනෙ අනිච්චතො දිට්ඨෙ ද්වාදසායතනානි අනිච්චතො දිට්ඨානි හොන්තී'ති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

ස. අනු: චක්ඛායතනං ද්වාදසායතනානී'ති.

ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

**22.** ස. පු: චක්ඛුධාතුයා අනිච්චතො දිට්ඨාය අට්ඨාරසධාතුයො අනිච්චතො දිට්ඨා හොන්තී'ති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

ස. අනු: චක්ඛුධාතු අට්ඨාරස ධාතුයො'ති.

ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

**23** ස. පු: චක්ඛුන්ද්‍රියෙ අනිච්චතො දිට්ඨෙ බාවීසතින්ද්‍රියානි අනිච්චතො දිට්ඨානි හොන්තී'ති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

ස. අනු: චක්ඛුන්ද්‍රියං බාවීසතින්ද්‍රියානී'ති.

ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

---

1. නිදත්ථියං - සීමු.

ස. අනු: දුඃඛදර්ශනය නිරර්ථක වේ ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

18. ස. පු: සමුදය දක්නේ ... නිරොධය දක්නේ 'පිළිපන්නෙකැ'යි කියැයුතු යැ. නිරොධය දුටු කල ඵලයෙහි සිටියෙකැයි කියැයුතු යැ යනු නො කියැයුතු ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: නිරොධදර්ශනය නිරර්ථක වේ ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

19. ප. පු: දුඃඛය දුටු කල චතුරාර්‍ය්‍යසත්‍යයෝ දක්නා ලද්දහු වෙත් ද?

ස. පටිඤ්ඤා: එසේ යැ.

ප. අනු: දුඃඛසත්‍යය චතුරාර්‍ය්‍යසත්‍ය වේ ද?

ස. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

20. ස. පු: රූපස්කන්ධය අනිත්‍ය විසින් දුටු කල පඤ්චස්කන්ධයෝ අනිත්‍ය විසින් දක්නා ලද්දහු වෙත් ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: රූපස්කන්ධය පඤ්චස්කන්ධ වේ ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

21. ස. පු: චක්ෂුරායතනය අනිත්‍ය විසින් දුටු කල ද්වාදශායතනයෝ අනිත්‍ය විසින් දක්නා ලද්දහු වෙත් ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: චක්ෂුරායතනය ද්වාදශායතන වේ ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

22. ස. පු: චක්ෂුර්ධාතු අනිත්‍ය විසින් දුටු කල අටළොස් ධාතුහු අනිත්‍ය විසින් දක්නා ලද්දහු වෙත් ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: චක්ෂුර්ධාතු අෂ්ටාදශධාතු වේ ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

23. ස. පු: චක්ෂුරින්ද්‍රිය අනිත්‍ය විසින් දුටු කල දෙවිසි ඉන්ද්‍රියයෝ අනිත්‍ය විසින් දුටුවාහු වෙත් ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: චක්ෂුරින්ද්‍රිය දෙවිසි ඉන්ද්‍රිය වේ ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

**24** ස. පු: චතූසු ඤාණෙසු සොතාපත්තිඵලං සච්ඡිකරොතී'ති.
ප. පටිඤ්ඤා: ආමන්තා.
ස. අනු: චත්තාරි සොතාපත්තිඵලානී'ති.
ප පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

**25.** ස. පු: අට්ඨසු ඤාණෙසු සොතාපත්තිඵලං සච්ඡිකරොතී'ති.
ප. පටිඤ්ඤා: ආමන්තා.
ස. අනු: අට්ඨ සොතාපත්තිඵලානී'ති.
ප පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

**26.** ස. පු: ද්වාදසසු ඤාණෙසු සොතාපත්තිඵලං සච්ඡිකරොතී'ති.
ප. පටිඤ්ඤා: ආමන්තා.
ස. අනු: ද්වාදස සොතාපත්තිඵලානී'ති.
ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

**27.** ස. පු: චතුචත්තාරීසාය ඤාණෙසු සොතාපත්තිඵලං සච්ඡිකරොතී'ති.
ප. පටිඤ්ඤා: ආමන්තා.
ස. අනු: චතුචත්තාරීසං සොතාපත්තිඵලානී'ති.
ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

**28.** ස. පු: සත්තසත්තතියා ඤාණෙසු සොතාපත්තිඵලං සච්ඡිකරොතී'ති.
ප. පටිඤ්ඤා: ආමන්තා.
ස. අනු: සත්තසත්තති සොතාපත්තිඵලානී'ති
ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

**29.** ප. පු: න වත්තබ්බං අනුපුබ්බාභිසමයො'ති.
ස. පටිඤ්ඤා: ආමන්තා.
ප. අනු: නනු වුත්තං භගවතා "සෙය්‍යථාපි භික්ඛවෙ මහාසමුද්දො අනුපුබ්බනින්නො අනුපුබ්බපොණො අනුපුබ්බපබ්භාරො න ආයතකෙනෙ'ව පපාතො, එවමෙව ඛො භික්ඛවෙ ඉමස්මිං ධම්මවිනයෙ අනුපුබ්බසික්ඛා අනුපුබ්බකිරියා අනුපුබ්බපටිපදා න ආයතකෙනෙව අඤ්ඤාපටිවෙධො"ති[a] අත්ථෙ'ව සුත්තන්තො'ති.
ස. පටිඤ්ඤා: ආමන්තා.
අනු. පා: තෙන හි අනුපුබ්බාභිසමයො'ති.

a. අට්ඨකඞ්ගුත්තර - මහාවග්ග - උපොසථ සුත්ත.

**24.** ස. පු: සියුනැණින් සොවත්ඵල ප්‍රත්‍යක්ෂ කෙරේ ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: සතර සොවත්ඵල කෙනෙක් ඇද්ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

**25.** ස. පු: (සච්චනට සාධාරණ සත්‍යඥනයෙන් හා ප්‍රතිසංවිත් ඥනයෙන් දැ’යි) අටනැණින් සොවත්ඵල ප්‍රත්‍යක්ෂ කෙරේ ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: අෂ්ටප්‍රකාර සොවත්ඵල කෙනෙක් ඇද්ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

**26.** ස. පු. (ද්වාදශාඞ්ගප්‍රතීත්‍යසමුත්පාදයෙහි එන) දෙලොස්-නැණින් සොවත්ඵල ප්‍රත්‍යක්ෂ කෙරේ ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: ද්වාදශප්‍රකාර සොවත්ඵල කෙනෙක් ඇද්ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

**27.** ස. පු: (ජරාමරණඥනාදි) සියුසාලිස් නුවණින් සොවත්-ඵල ප්‍රත්‍යක්ෂ කෙරේ ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: චතුශ්චත්වාරිංශත් ශ්‍රොතාපත්තිඵල කෙනෙක් ඇද්ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ..

**28.** ස. පු: සත්සැත්තෑනුවණින් සොවත්ඵල ප්‍රත්‍යක්ෂ කෙරේ ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: සත්සැත්තෑ සොවත්ඵල කෙනෙක් ඇද්ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

**29.** ප. පු: අනුපූර්වාභිසමය (අභිසමය අනුපූර්ව යයි) නො කියැයුතු ද?

ස. පටිඤ්ඤා: එසේ යැ.

ප. අනු: භාග්‍යවතුන් වහන්සේ විසින් වදාරන ලද මැ නු: “මහණෙනි, යම්සේ මහාසමුද්‍රය අනුපූර්වනිම්න වේ ද, අනුපූර්වප්‍රවණ වේ ද, අනුපූර්වප්‍රාග්භාර වේ ද, ආයතනමාගීයෙන් (එකඑල්ලේ) මැ ප්‍රපාත නො වේ ද, මහණෙනි, එසේ මැ මේ ධර්මවිනයෙහි අනුපූර්වශික්ෂා අනුපූර්වක්‍රියා අනුපූර්වප්‍රතිපත් ඇත. ආයතනමාගීයෙන් මැ අර්හත්වප්‍රතිවෙධ නො වෙතියි”යි වදළ සූත්‍රාන්තයෙක් ඇත්තේ මැ නු?

ස. පටිඤ්ඤා: එසේ යැ.

අනු. පා: එකරුණින් අනුපූර්වාභිසමය ඇත.

**30.** ප. පු: න වත්තබ්බං අනුපුබ්බාභිසමයො'ති.

ස. පටිඤ්ඤා: ආමන්තා.

ප. අනු: නනු වුත්තං භගවතා:

"අනුපුබ්බෙන මෙධාවී
ථොකථොකං ඛණෙ ඛණෙ
කම්මාරො රජතස්සෙ'ව
නිද්ධමෙ මලමත්තනො"ති[a]

අත්ථෙ'ව සුත්තන්තො'ති.

ස. පටිඤ්ඤා: ආමන්තා.

අනු. පා: තෙන හි අනුපුබ්බාභිසමයො'ති.[1]

**31.** ස. පු: අනුපුබ්බාභිසමයො'ති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

ස. අනු: නනායස්මා ගවම්පති ථෙරො භික්ඛූ එතදවොච: "සම්මුඛා මෙතං ආවුසො භගවතො සුතං, සම්මුඛා පටිග්ගහිතං: යො භික්ඛවෙ දුක්ඛං පස්සති දුක්ඛසමුදයම්පි සො පස්සති දුක්ඛනිරොධම්පි පස්සති දුක්ඛනිරොධගාමිනිං පටිපදම්පි පස්සති. යො දුක්ඛසමුදයං පස්සති දුක්ඛම්පි සො පස්සති දුක්ඛනිරොධම්පි පස්සති දුක්ඛනිරොධගාමිනිං පටිපදම්පි පස්සති. යො දුක්ඛනිරොධං පස්සති දුක්ඛම්පි සො පස්සති දුක්ඛසමුදයම්පි පස්සති දුක්ඛනිරොධගාමිනිං පටිපදම්පි පස්සති. යො දුක්ඛනිරොධගාමිනිං පටිපදං පස්සති දුක්ඛම්පි සො පස්සති දුක්ඛසමුදයම්පි පස්සති දුක්ඛනිරොධම්පි පස්සතී"ති[b] අත්ථෙ'ව සුත්තන්තො'ති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

අනු. පා: තෙන හි න වත්තබ්බං "අනුපුබ්බාභිසමයො"ති.

**32** ස. පු: අනුපුබ්බාභිසමයො'ති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

---

1 තෙන හි න වත්තබ්බං අනුපුබ්බාභිසමයො'ති - සීමු.

a. ධම්මපද - මලවග්ග

b. සච්චසංයුත්ත - කොටිගාමවග්ග - ගවම්පතිසුත්ත

**30.** ප. පු: අනුපුබ්බාභිසමය නො කියයුතු ද?

ස. පටිඤ්ඤා: එසේ යැ.

ප. අනු: භාග්‍යවතුන් විසින් වදාරනලද මැ නු:

"කඹුරා සවර්ණයාගේ මල හරනාක් සෙයින් ප්‍රඥාසම්බුද්ධි ඇති ශ්‍රාවක පිළිවෙළින් කෙණෙහි කෙණෙහි මඳ මඳ කොට තමාගේ කෙලෙස්මල නහාපියන්නේය"යි වදාළ සූත්‍රාන්තයෙක් ඇත්තේ මැ නු?

ස. පටිඤ්ඤා: එසේ යැ.

අනු. පා: එකරුණින් අනුපුබ්බාභිසමය ඇත.

**31.** ස. පු: අනුපුබ්බාභිසමය ඇද්ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: ආයුෂ්මත් ගවම්පති තෙරණුවෝ භික්ෂූන්ට තෙල කිවාහු නො වේ ද: "ඇවැත්නි, බුදුන් හමියෙහි තෙල අසන ලද, හමියෙහි පිළිගන්නා ලද: මහණෙනි, යම් සත්වෙක් දුක් දක්නේ වේ නම්, හේ දුඃඛසමුදයත් දක්නේ යැ, දුඃඛනිරොධයත් දක්නේ යැ, දුඃඛනිරොධගාමිනීප්‍රතිපත්ති දු දක්නේ යැ. යම් සත්වෙක් දුඃඛසමුදය දක්නේ වේ නම්, හේ දුඃඛයත් දක්නේ යැ, දුඃඛනිරොධයත් දක්නේ යැ, දුඃඛනිරොධගාමිනී ප්‍රතිපත්ති දු දක්නේ යැ. යම් සත්වෙක් දුඃඛනිරොධය දක්නේ වේ නම්, හේ දුඃඛය ද දක්නේ යැ, දුඃඛසමුදය ද දක්නේ යැ, දුඃඛනිරොධගාමිනීප්‍රතිපත් ද දක්නේ යැ. යම් සත්වෙක් දුඃඛනිරොධගාමිනීප්‍රතිපත්ති දක්නේ වේ නම්, හේ දුඃඛය ද දක්නේ යැ, දුඃඛසමුදය ද දක්නේ යැ, දුඃඛනිරොධය ද දක්නේ යැ"යි වදාළ සූත්‍රාන්තයෙක් ඇත්තේ මැ නු?

ප. පටිඤ්ඤා: එසේ යැ.

අනු. පා: එ කරුණින් අනුපුබ්බාභිසමය නො කියයුතු යැ.

**32.** ස. පු: අනුපුබ්බාභිසමය ඇද්ද?

ප පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: නනු වුත්තං භගවතා:

"සහාවස්සදස්සනසම්පදාය
තයස්සු ධම්මා ජහිතා භවන්ති:
සක්කායදිට්ඨිවිචිකිච්ඡිතඤ්ච
සීලබ්බතං වා'පි යදත්ථි කිඤ්චි,
චතූහපායෙහි ච විප්පමුත්තො
ඡ චාභිඨානානි අභබ්බො කාතුන්ති.a

අත්ථේ'ව සුත්තන්තො'ති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

අනු. පා: තෙන හි න වත්තබ්බං 'අනුපුබ්බාභිසමයො'ති.

33. ස. පු: අනුපුබ්බාභිසමයො'ති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

ස. අනු: නනු වුත්තං භගවතා: "යස්මිං භික්ඛවෙ සමයෙ අරියසාවකස්ස විරජං වීතමලං ධම්මචක්ඛුං උදපාදි: 'යං කිඤ්චි සමුදයධම්මං සබ්බං තං නිරොධ-ධම්මන්ති'. සහදස්සනුප්පාදා භික්ඛවෙ අරියසාවකස්ස තීණි සඤ්ඤොජනානි පහීයන්ති: සක්කායදිට්ඨි විචිකිච්ඡා සීලබ්බතපරාමාසො"ති අත්ථේ'ව සුත්තන්තො'ති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

අනු. පා: තෙන හි න වත්තබ්බං "අනුපුබ්බාභිසමයො"ති.

අනුපුබ්බාභිසමයකථා නිට්ඨිතා.

a. සුත්තනිපාත - රතනසුත්ත.

ස. අනු: භාග්‍යවතුන් වහන්සේ විසින් වදාරනලද මැ නු:

"ඔහුට දර්ශනසම්පත් උදා වන්නා හා මැ ධර්මයෝ තුන් දෙනෙක් හරන ලද වෙත්: සත්කායදෘෂ්ටි යැ විචිකිත්සා යැ, යම් ශීලව්‍රතයෙක් හෝ ඇද්ද, එ ද වෙයි. සිව් අපායෙන් විප්‍රමුක්ත ද වූයේ ෂට්අභිස්ථාන කරන්නට ද හේ නො තිසි වේ ය"යි වදාළ සූත්‍රාන්තයෙක් ඇත්තේ මැ නු?

ප. පටිඤ්ඤා: එසේ යැ.

අනු. පා: එකරුණින් අනුපූර්වාභිසමය නො කියැයුතු යැ.

**33.** ස. පු: අනුපූර්වාභිසමය ඇද්ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: භාග්‍යවතුන් වහන්සේ විසින් වදාරන ලද මැ නු:

"මහණෙනි, යම් කලෙක ආර්යශ්‍රාවකයකු හට පහ කළ ක්ලේශරජස් ඇති පහවැ ගිය ක්ලේශමල ඇති ධර්මචක්ෂුස උදා දින් ද, කෙසේ යැ යත්: 'යම්කිසි සමුදය ස්වභාවයෙක් ඇත් නම් එ හැම නිරෝධස්වභාව ඇති'යි කියා යි. මහණෙනි, ඒ දර්ශනෝත්පාද උදපත් වන්නා හා මැ ආර්යශ්‍රාවකයාහට ත්‍රිවිධ සංයෝජනයෝ ප්‍රහීණ වැ යෙති: සත්කායදෘෂ්ටි යැ විචිකිත්සා යැ ශීලව්‍රතපරාමර්ශ යැ"යි වදාළ සූත්‍රාන්තයෙක් ඇත්තේ මැ නු?

ප. පටිඤ්ඤා: එසේ යැ.

අනු. පා: එ කරුණින් 'අනුපූර්වාභිසමය ඇති'යි නො කියැයුතු යි.

**අනුපූර්වාභිසමයකථා නිමි.**

## 2. 10.

# වොහාරකථා

**1.** ස. පු: බුද්ධස්ස භගවතො වොහාරො ලොකුත්තරො'ති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

ස. අනු: ලොකුත්තරෙ සොතෙ පටිහඤ්ඤති නො ලොකියෙ, ලොකුත්තරෙන විඤ්ඤාණෙන පටිවිජානන්ති නො ලොකියෙන, සාවකා පටිවිජානන්ති නො පුථුජ්ජනා'ති.

ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

**2.** ස. පු: නනු බුද්ධස්ස භගවතො වොහාරො ලොකියෙ සොතෙ පටිහඤ්ඤතී'ති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

අනු. ඨ: හඤ්චි බුද්ධස්ස භගවතො වොහාරො ලොකියෙ සොතෙ පටිහඤ්ඤති,

අනු. පා: නො ච වත රෙ වත්තබ්බෙ: බුද්ධස්ස භගවතො වොහාරො ලොකුත්තරො'ති.

**3.** ස. පු: නනු බුද්ධස්ස භගවතො වොහාරං ලොකියෙන විඤ්ඤාණෙන පටිවිජානන්තී'ති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

අනු. ඨ: හඤ්චි බුද්ධස්ස භගවතො වොහාරං ලොකියෙන විඤ්ඤාණෙන පටිවිජානන්ති,

අනු. පා: නො ච වත රෙ වත්තබ්බෙ: බුද්ධස්ස භගවතො වොහාරො ලොකුත්තරො'ති.

**4.** ස. පු: නනු බුද්ධස්ස භගවතො වොහාරං පුථුජ්ජනා පටිවිජානන්තී'ති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

අනු. ඨ: හඤ්චි බුද්ධස්ස භගවතො වොහාරං පුථුජ්ජනා පටිවිජානන්ති,

අනු. පා: නො ච වත රෙ වත්තබ්බෙ: බුද්ධස්ස භගවතො වොහාරො ලොකුත්තරො'ති.

## 2. 10.

# වොහාරකථා.

[භාග්‍යවතුන් වහන්සේ ලොකොත්තර ව්‍යවහාරයෙන් ව්‍යවහාර කෙරෙති'යි අන්ධකනිකායවාසීන් කෙසින් ලබ්ධි ගත් වාදීන්ගේ වාද බිඳුනට වොහාරකථා එයි.]

**1.** ස. පු: භාග්‍යවත් බුදුරදුන්ගේ ව්‍යවහාරය ලොකොත්තර වේ ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: ලොකොත්තර ශ්‍රොත්‍රයෙහි ව්‍යවහාරය ගැවේ ද, ලෞකික ශ්‍රොත්‍රයෙහි නො ගැවේ ද, ලොකොත්තර විඥනයෙන් ව්‍යවහාරය දනිත් ද, ලෞකික විඥනයෙන් නො දනිත් ද, ආර්‍ය්‍යශ්‍රාවකයෝ ව්‍යවහාරය දනිත් ද, පුහුදුන්හු නො දනිත් ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

**2.** ස. පු: භාග්‍යවත් බුදුරදුන් ගේ ව්‍යවහාරය ලෞකික–ශ්‍රොත්‍රයෙහි ගැටෙන්නේ නො වේ ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

අනු. ඨ: ඉදින් භාග්‍යවත් බුදුරදුන්ගේ ව්‍යවහාරය ලෞකිකශ්‍රොත්‍රයෙහි ගැවේ නම්,

අනු. පා: භවත, 'භාග්‍යවත් බුදුරදුන්ගේ ව්‍යවහාරය ලොකොත්තර වේ'යයි නො කියැයුතු යැ.

**3.** ස. පු: භාග්‍යවත් බුදුරදුන්ගේ ව්‍යවහාරය ලෞකික–විඥනයෙන් දනිත් ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

අනු. ඨ: ඉදින් භාග්‍යවත් බුදුරදුන්ගේ ව්‍යවහාරය ලෞකික විඥනයෙන් දනිත් නම්,

අනු. පා: භවත, 'භාග්‍යවත් බුදුරදුන්ගේ ව්‍යවහාරය ලොකොත්තර වේ' යයි නො කියැයුතු මැ යැ.

**4.** ස. පු: භාග්‍යවත් බුදුරදුන්ගේ ව්‍යවහාරය පුහුදුන්හු දන්නාහු නො වේ ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

අනු. ඨ: ඉදින් භාග්‍යවත් බුදුරදුන්ගේ ව්‍යවහාරය පුහුදුන්හු දනිත් නම්,

අනු. පා: භවත, 'භාග්‍යවත් බුදුරදුන්ගේ ව්‍යවහාරය ලොකොත්තර වේ' යයි නො කියැයුතු මැ යැ.

**5.** ස. පු: 'බුද්ධස්ස භගවතො වොහාරො ලොකුත්තරො'ති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

ස. අනු: මග්ගො ඵලං නිබ්බානං සොතාපත්තිමග්ගො සොතාපත්තිඵලං සකදාගාමිමග්ගො සකදාගාමිඵලං අනාගාමිමග්ගො අනාගාමිඵලං අරහත්තමග්ගො අරහත්තඵලං සතිපට්ඨානං සම්මප්පධානං ඉද්ධිපාදො ඉන්ද්‍රියං බලං බොජ්ඣඞ්ගො'ති.

ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

**6.** ස. පු: බුද්ධස්ස භගවතො වොහාරො ලොකුත්තරො'ති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

ස. අනු. අත්ථි කෙචි බුද්ධස්ස භගවතො වොහාරං සුණන්තී'ති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

ස. අනු: ලොකුත්තරො ධම්මො සොතවිඤ්ඤෙය්‍යො සොතස්මිං පටිහඤ්ඤති, සොතස්ස ආපාථං ආගච්ඡතී'ති.

ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

**7.** ස. පු: නනු ලොකුත්තරො ධම්මො න සොතවිඤ්ඤෙය්‍යො න සොතස්මිං පටිහඤ්ඤති, න සොතස්ස ආපාථං ආගච්ඡතී'ති

ප. පටිඤ්ඤා: ආමන්තා.

අනු. ඨ: හඤ්චි ලොකුත්තරො ධම්මො න සොතවිඤ්ඤෙය්‍යො න සොතස්මිං පටිහඤ්ඤති න සොතස්ස ආපාථං ආගච්ඡති,

අනු. පා: නො ච වත රෙ වත්තබ්බෙ: බුද්ධස්ස භගවතො වොහාරො ලොකුත්තරොති.

**8.** ස. පු: බුද්ධස්ස භගවතො වොහාරො ලොකුත්තරො'ති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

ස. අනු: අත්ථි කෙචි බුද්ධස්ස භගවතො වොහාරෙ රජ්ජෙය්‍යුන්ති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

ස. අනු: ලොකුත්තරො ධම්මො රාගට්ඨානියො රජනීයො කමනීයො මදනීයො බන්ධනීයො මුච්ඡනීයො'ති.

ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

5. ස. පු: භාග්‍යවත් බුදුරජුන්ගේ ව්‍යවහාරය ලොකොත්තර වේ ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: මාර්ගී යැ ඵල යැ නිර්වාණ යැ ශ්‍රොතාපත්තිමාර්ගී යැ ශ්‍රොතාපත්තිඵල යැ සකෘදාගාමීමාර්ගී යැ සකෘදාගාමි ඵල යැ අනාගාමිමාර්ගී යැ අනාගාමිඵල යැ අර්හත්ත්ව-මාර්ගී යැ අර්හත්ත්වඵල යැ සිවටනැ සම්‍යක්ප්‍රධාන යැ ඍද්ධිපාදයෝ යැ ඉන්ද්‍රිය යැ බල යැ බොධ්‍යඞ්ගයෝ යැ යනු ව්‍යවහාර වේ ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

6. ස. පු: භාග්‍යවත් බුදුරදුන්ගේ ව්‍යවහාරය ලොකොත්තර වේ ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: භාග්‍යවත් බුදුරදුන්ගේ ව්‍යවහාර අසන යම් මැ කෙනෙක් ඇද්ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: ලොකොත්තරධර්මය ශ්‍රොත්‍රවිඥෙය වේ ද, ශ්‍රොත්‍ර-යෙහි ගැටේ ද, ශ්‍රොත්‍රයට අපාථගත වේ ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

7. ස. පු: ලොකොත්තරධර්මය ශ්‍රොත්‍රවිඥෙය නො වන්නේ මැ වේ ද, ශ්‍රොත්‍රයෙහි නො ගැටෙන්නේ නො වේ ද, ශ්‍රොත්‍රයට ආපාථ වැ නො එන්නේ නො වේ ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

අනු. ඨ: ඉදින් ලොකොත්තරධර්මය ශ්‍රොත්‍රවිඥෙය නො වේ නම්, ශ්‍රොත්‍රයෙහි නො ගැටේ නම්, ශ්‍රොත්‍රයට ආපාථ වැ නො පැමිණේ නම්,

අනු. පා: භවත, ‘භාග්‍යවත් බුදුරදුන්ගේ ව්‍යවහාරය ලොකොත්තර වේ’යයි නො කියැයුතු මැ යැ.

8. ස. පු: භාග්‍යවත් බුදුරදුන්ගේ ව්‍යවහාරය ලොකොත්තර වේ ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: භාග්‍යවත් බුදුරදුන්ගේ ව්‍යවහාරයෙහි ඇලෙන යම් මැ කෙනෙක් ඇද්ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: ලොකොත්තරධර්මය රාගසථානයට යොග්‍ය වේ ද, රජනයට යොග්‍ය වේ ද, කාමනයට හිත වේ ද, මදනයට හිත වේ ද, බන්ධනයට හිත වේ ද, මූර්ච්ඡනයට හිත වේ ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

**9.** ස. පු: නනු ලොකුත්තරො ධම්මො න රාගට්ඨානියො න රජනීයො න කමනීයො න මදනීයො න බන්ධනීයො න මුච්ඡනීයො'ති.

ප. පටික්ඛෙපො: ආමන්තා.

අනු. ඨ: හඤ්චි ලොකුත්තරො ධම්මො න රාගට්ඨානියො න රජනීයො න කමනීයො න මදනීයො න බන්ධනීයො න මුච්ඡනීයො,

අනු. පා: නො ච වත රෙ වත්තබ්බෙ: බුද්ධස්ස භගවතො වොහාරො ලොකුත්තරො'ති.

**10.** ස. පු: බුද්ධස්ස භගවතො වොහාරො ලොකුත්තරො'ති.

ප. පටික්ඛෙපො: ආමන්තා.

ස. අනු: අත්ථි කෙචි බුද්ධස්ස භගවතො වොහාරෙ දුස්සෙය්‍යුන්ති.

ප. පටික්ඛෙපො: ආමන්තා.

ස. අනු: ලොකුත්තරො ධම්මො දොසට්ඨානියො කොපට්ඨානියො පටිඝට්ඨානියො'ති.

ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

**11.** ස. පු: නනු ලොකුත්තරො ධම්මො න දොසට්ඨානියො න කොපට්ඨානියො න පටිඝට්ඨානියො'ති.

ප: පටික්ඛෙපො: ආමන්තා.

අනු. ඨ: හඤ්චි ලොකුත්තරො ධම්මො න දොසට්ඨානියො න කොපට්ඨානියො න පටිඝට්ඨානියො,

අනු. පා: නො ච වත රෙ වත්තබ්බෙ: බුද්ධස්ස භගවතො වොහාරො ලොකුත්තරො'ති.

**12.** ස. පු: බුද්ධස්ස භගවතො වොහාරො ලොකුත්තරො'ති.

ප. පටික්ඛෙපො: ආමන්තා.

ස. අනු: අත්ථි කෙචි බුද්ධස්ස භගවතො වොහාරෙ මුය්හෙය්‍යුන්ති.

ප. පටික්ඛෙපො: ආමන්තා.

**9.** ස. පු: ලොකොත්තරධර්මය රාගස්ථානයට හිත නො වන්නේ රජනයට හිත නො වන්නේ කමනයට හිත නො වන්නේ මදනයට හිත නො වන්නේ බන්ධනයට හිත නො වන්නේ මූර්ච්ඡනයට හිත නො වන්නේ නො වේ ද?

ප. පටික්ෂෙප: එසේ යැ.

අනු. ඨ: ඉදින් ලොකොත්තරධර්මය රාගස්ථානයට හිත නො වේ නම්, රජනයට හිත නො වේ නම්, කමනයට හිත නො වේ නම්, මදනයට හිත නො වේ නම්, බන්ධනයට හිත නො වේ නම්, මූර්ච්ඡනයට හිත නො වේ නම්,

අනු. පා: භවත, 'භාග්‍යවත් බුදුරදුන්ගේ ව්‍යවහාරය ලොකොත්තර වේ'යයි නො කියැයුතු මැ යැ.

**10.** ස. පු: භාග්‍යවත් බුදුරදුන්ගේ ව්‍යවහාරය ලොකොත්තර වේ ද?

ප. පටික්ෂෙප: එසේ යැ.

ස. අනු: භාග්‍යවත් බුදුරදුන්ගේ ව්‍යවහාරයෙහි අප්‍රීති-ද්වෙෂ කරන යම් මැ කෙනෙක් ඇද්ද?

ප. පටික්ෂෙප: එසේ යැ.

ස. අනු: ලොකොත්තරධර්මය ද්වෙෂ කරනුවට නිසි වේ ද, කොප කරනුවට නිසි වේ ද, ප්‍රතිඝ කරනුවට නිසි වේ ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ..

**11.** ස. පු: ලොකොත්තරධර්මය ද්වෙෂ කරනුවට නිසි නො වන්නේ කොප කරනුවට නිසි නො වන්නේ ප්‍රතිඝ කරනුවට නිසි නො වන්නේ නො වේ ද?

ප. පටික්ෂෙප: එසේ යැ.

අනු. ඨ: ඉදින් ලොකොත්තරධර්මය ද්වෙෂ කරනුවට නිසි නො වේ නම්, කොප කරනුවට නිසි නො වේ නම්, ප්‍රතිඝ කරනුවට නිසි නො වේ නම්,

අනු. පා: භවත, 'භාග්‍යවත් බුදුරදුන්ගේ ව්‍යවහාරය ලොකොත්තර වේ' යයි නො කියැයුතු යැ.

**12.** ස. පු: භාග්‍යවත් බුදුරදුන්ගේ ව්‍යවහාරය ලොකොත්තර වේ ද?

ප. පටික්ෂෙප: එසේ යැ.

ස. අනු: භාග්‍යවත් බුදුරදුන්ගේ ව්‍යවහාරයෙහි මූළ්හ වන යම් මැ කෙනෙක් ඇද්ද?

ප. පටික්ෂෙප: එසේ යැ.

ස. අනු: ලොකුත්තරො ධම්මො මොහට්ඨානියො අඤ්ඤාණකරණො අචක්ඛුකරණො පඤ්ඤානිරොධිකො විඝාතපක්ඛිකො අනිබ්බානසංවත්තනිකො'ති.

ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

**13.** ස. පු: නනු ලොකුත්තරො ධම්මො න මොහට්ඨානියො න අඤ්ඤාණකරණො න අචක්ඛුකරණො පඤ්ඤාවුද්ධිකො[1] අවිඝාතපක්ඛිකො නිබ්බානසංවත්තනිකො'ති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

අනු. ඨ: හඤ්චි ලොකුත්තරො ධම්මො න මොහට්ඨානියො න අඤ්ඤාණකරණො න අචක්ඛුකරණො පඤ්ඤාවුද්ධිකො[1] අවිඝාතපක්ඛිකො නිබ්බානසංවත්තනිකො,

අනු. පා: නො ච වත රෙ වත්තබ්බෙ: බුද්ධස්ස භගවතො වොහාරො ලොකුත්තරො'ති.

**14.** ස. පු: බුද්ධස්ස භගවතො වොහාරො ලොකුත්තරො'ති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

ස. අනු: යෙ කෙචි බුද්ධස්ස භගවතො වොහාරං සුණන්ති, සබ්බෙ තෙ මග්ගං භාවෙන්තී'ති.

ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

**15.** ස. පු: යෙ කෙචි බුද්ධස්ස භගවතො වොහාරං සුණන්ති, සබ්බෙ තෙ මග්ගං භාවෙන්තී'ති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

ස. අනු: බාලපුථුජ්ජනා බුද්ධස්ස භගවතො වොහාරං සුණන්ති, බාලපුථුජ්ජනා මග්ගං භාවෙන්තී'ති.

ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

ස. අනු: මාතුඝාතකා[2] -පෙ- පිතුඝාතකා -පෙ- අරහන්තඝාතකා -පෙ- රුහිරුප්පාදකා -පෙ- සඞ්ඝභෙදකා බුද්ධස්ස භගවතො වොහාරං සුණන්ති. සඞ්ඝභෙදකා මග්ගං භාවෙන්තී'ති[3].

ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

---

1. පඤ්ඤාවුඩ්ඪිකො - සීමු.
2 මාතුඝාතකො මග්ගං භාවෙති - සීමු, මජ්සං.
3 මජ්සං, සීමු පොත්ථකෙසු වාක්‍යමිදං එකන්තෙන ඨපිතං දිස්සතෙ

ස. අනු: ලොකොත්තරධර්මය මොහයට හිත වේ ද, නුනුවණ කරනු වේ ද, අවක්‍ෂුස කරනු වේ ද, ප්‍රඥ නිරොධ ඇති කරනු වේ ද, විඝාතපක්‍ෂයෙහි වූයේ වේ ද, නිවන් පිණිස නො පැවැතුම් ඇති වේ ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

**13.** ස. පු: ලොකොත්තරධර්මය මොහයට සොග්‍ය නො වන්නේ නුනුවණ කරනු නො වන්නේ අවක්‍ෂුස කරනු නො වන්නේ ප්‍රඥවෘද්ධික වන්නේ විඝාත පක්‍ෂ ඇති නොවන්නේ නිවන් පිණිස පවත්නේ නො වේ ද?

ප. පටිඤ්ඤ: එසේ යැ.

අනු. ඵ: ඉදින් ලොකොත්තරධර්මය මොහයට් හිසි නො වේ නම්, නුනුවණ කරනු නො වේ නම්, අවක්‍ෂුස කරනු නො වේ නම්, ප්‍රඥවෘද්ධික වේ නම්, විඝාතපක්‍ෂ ඇති නො වේ නම්, නිවන් පිණිස පවත්නේ වේ නම්,

අනු. පා: භවත, 'භාග්‍යවත් බුදුරදුන්ගේ ව්‍යවහාරය ලොකොත්තර වේ' යයි නො කියැයුතු මැ යැ.

**14.** ස. පු: භාග්‍යවත් බුදුරදුන්ගේ ව්‍යවහාරය ලොකොත්තර වේ ද?

ප. පටිඤ්ඤ: එසේ යැ.

ස. අනු: භාග්‍යවත් බුදුරදුන්ගේ ව්‍යවහාරය අසන යම් මැ කෙනෙක් ඇද්ද, එ හැම මාර්ගය වඩත් ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

**15.** ස. පු: භාග්‍යවත් බුදුරදුන්ගේ ව්‍යවහාරය අසන යම් මැ කෙනෙක් ඇද්ද, එ හැම මාර්ගය වඩත් ද?

ප. පටිඤ්ඤ: එසේ යැ.

ස. අනු: බල් පුහුදුන්හු භාග්‍යවත් බුදුරදුන්ගේ ව්‍යවහාරය අසත් ද, බල් පුහුදුන්හු මාර්ගය වඩත් ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

ස. අනු: මාතෘඝාතකයෝ ... පිතෘඝාතකයෝ ... අර්හත්-ඝාතකයෝ ... රුධිරොත්පාදකයෝ ... සඞ්ඝ-භෙදකයෝ භාග්‍යවත් බුදුරදුන්ගේ ව්‍යවහාරය අසත්. සඞ්ඝභෙදකයෝ මාර්ගය වඩත් ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

**16.** ප. පු: ලබ්භා සොවණ්ණමයාය ලට්ඨියා ධඤ්ඤපුඤ්ජො'පි සුවණ්ණපුඤ්ජො'පි ආචික්ඛිතුන්ති.

ස. පටිඤ්ඤා: ආමන්තා.

අනු. පා: එවමෙවං භගවා ලොකුත්තරෙන වොහාරෙන ලොකියම්පි ලොකුත්තරම්පි ධම්මං වොහරතී'ති.

**17.** ස. පු: ලබ්භා එලණ්ඩියාය ලට්ඨියා ධඤ්ඤපුඤ්ජො'පි සුවණ්ණපුඤ්ජො'පි අචික්ඛිතුන්ති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

අනු. පා: එවමෙවං භගවා ලොකියෙන වොහාරෙන ලොකියම්පි ලොකුත්තරම්පි ධම්මං වොහරතී'ති.

**18.** ස. පු: බුද්ධස්ස භගවතො වොහාරො ලොකියං වොහරන්තස්ස ලොකියො හොති, ලොකුත්තරං වොහරන්තස්ස ලොකුත්තරො හොතී'ති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

ස. අනු: ලොකියං වොහරන්තස්ස ලොකියෙ සොතෙ පටිහඤ්ඤති, ලොකුත්තරං වොහරන්තස්ස ලොකුත්තරෙ සොතෙ පටිහඤ්ඤති, ලොකියං වොහරන්තස්ස ලොකියෙන විඤ්ඤාණෙන පටි- විජානන්ති, ලොකුත්තරං වොහරන්තස්ස ලොකුත්තරෙන විඤ්ඤාණෙන පටිවිජානන්ති, ලොකියං වොහරන්තස්ස පුථුජ්ජනා පටිවිජානන්ති, ලොකුත්තරං වොහරන්තස්ස සාවකා පටි- විජානන්තී'ති.

ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

**19.** ප. පු: න වත්තබ්බං බුද්ධස්ස භගවතො වොහාරො ලොකියං වොහරන්තස්ස ලොකියො හොති, ලොකුත්තරං වොහරන්තස්ස ලොකුත්තරො හොතී'ති.

ස. පටිඤ්ඤා: ආමන්තා.

ප. අනු: නනු භගවා ලොකියම්පි ලොකුත්තරම්පි ධම්මං වොහරතී'ති.

ස. පටිඤ්ඤා: ආමන්තා.

**16.** ප. පු: රුවන්මුවා යටින් ධාන්‍යපුඤ්ජයත් සුවර්ණපුඤ්ජයත් දක්වා කියන්නට ලැබිය හේ ද?

ස. පටිඤ්ඤා: එසේ යැ.

අනු. පා: එ පරිදි මැ භාග්‍යවතුන් වහන්සේ ලොකොත්තර ව්‍යවහාරයෙන් ලෞකික වූත් ලොකොත්තර වූත් ධර්මය ව්‍යවහාර කෙරෙති.

**17.** ස. පු: එරඬු යටින් ධාන්‍යපුඤ්ජයත් සුවර්ණපුඤ්ජයත් කියාදෙන්නට හැකි වේ ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

අනු. පා: එ පරිදි මැ භාග්‍යවතුන් වහන්සේ ලෞකික ව්‍යවහාරයෙන් ලෞකික වූත් ලොකොත්තර වූත් ධර්මය ව්‍යවහාර කෙරෙත්.

**18.** ස. පු: භාග්‍යවත් බුදුරදුන්ගේ ව්‍යවහාරය ලෞකිකාර්‍ථය ව්‍යවහාර කරනුවන්හට ලෞකික වේ ද? ලොකොත්තරාර්‍ථය ව්‍යවහාර කරනුවන්හට ලොකොත්තර වේ ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: ලෞකිකාර්‍ථය ව්‍යවහාර කරන බුදුන්ගේ ව්‍යවහාරය ලෞකිකශ්‍රොත්‍රයෙහි ගැටේ ද, ලොකොත්තරාර්‍ථය ව්‍යවහාර කරන බුදුන්ගේ ව්‍යවහාරය ලොකොත්තර ශ්‍රොත්‍රයෙහි ගැටේ ද, ලෞකිකාර්‍ථය ව්‍යවහාර කරන බුදුන්ගේ ව්‍යවහාරය ලෞකිකවිඥානයෙන් දනිත් ද, ලොකොත්තරාර්‍ථය ව්‍යවහාර කරන බුදුන්ගේ ව්‍යවහාරය ලොකොත්තරවිඥානයෙන් දනිත් ද, ලෞකිකාර්‍ථය ව්‍යවහාර කරන බුදුන්ගේ ව්‍යවහාරය පුහුදුන්හු දනිත් ද, ලොකොත්තරාර්‍ථය ව්‍යවහාර කරන බුදුන්ගේ ව්‍යවහාරය ආර්‍ය්‍ය-ශ්‍රාවකයෝ දනිත් ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

**19.** ප. පු: 'ලෞකිකාර්‍ථය ව්‍යවහාර කරන භාග්‍යවත් බුදු-රදුන්ගේ ව්‍යවහාරය ලෞකික වෙයි, ලොකොත්ත-රාර්‍ථය ව්‍යවහාර කරන බුදුරදුන්ගේ ව්‍යවහාරය ලොකොත්තර වේ' යනු නො කියැයුතු ද?

ස. පටිඤ්ඤා: එසේ යැ.

ප. අනු: භාග්‍යවතුන් වහන්සේ ලෞකික වූත් ලොකොත්තර වූත් ධර්මය දෙසනා කරන්නාහු නො ද?

ස. පටිඤ්ඤා: එසේ යැ.

අනු. ථ: හඤ්චි භගවා ලොකියම්පි ලොකුත්තරම්පි ධම්මං වොහරති,

අනු. පා: තෙන වත රෙ වත්තබ්බෙ: බුද්ධස්ස භගවතො වොහාරො ලොකියං වොහරන්තස්ස ලොකියො හොති, ලොකුත්තරං වොහරන්තස්ස ලොකුත්තරො හොතී'ති.

**20** ස. පු: බුද්ධස්ස භගවතො වොහාරො ලොකියං වොහරන්තස්ස ලොකියො හොති, ලොකුත්තරං වොහරන්තස්ස ලොකුත්තරො හොතී'ති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

ස. අනු: මග්ගං වොහරන්තස්ස මග්ගො හොති, අමග්ගං වොහරන්තස්ස අමග්ගො හොති, ඵලං වොහරන්තස්ස ඵලං හොති, අඵලං වොහරන්තස්ස අඵලං හොති, නිබ්බානං වොහරන්තස්ස නිබ්බානං හොති, අනිබ්බානං වොහරන්තස්ස අනිබ්බානං හොති, සඞ්ඛතං වොහරන්තස්ස සඞ්ඛතං හොති, අසඞ්ඛතං වොහරන්තස්ස අසඞ්ඛතං හොති, රූපං වොහරන්තස්ස රූපං හොති, අරූපං වොහරන්තස්ස අරූපං හොති, වෙදනං වොහරන්තස්ස වෙදනා හොති, අවෙදනං වොහරන්තස්ස අවෙදනා හොති, සඤ්ඤං වොහරන්තස්ස සඤ්ඤා හොති, අසඤ්ඤං වොහරන්තස්ස අසඤ්ඤා හොති, සඞ්ඛාරෙ වොහරන්තස්ස සඞ්ඛාරා හොන්ති, අසඞ්ඛාරෙ වොහරන්තස්ස අසඞ්ඛාරා හොන්ති, විඤ්ඤාණං වොහරන්තස්ස විඤ්ඤාණං හොති, අවිඤ්ඤාණං වොහරන්තස්ස අවිඤ්ඤාණං හොතීති.

ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

**වොහාරකථා නිට්ඨිතා.**

අනු. ඵ: ඉදින් භාග්‍යවතුන් වහන්සේ ලෞකික වූත් ලොකොත්තර වූත් ධර්මය ව්‍යවහාර කෙරෙත් නම්,

අනු. පා: එ කරුණින් භවත, ‘ලෞකිකධර්මය ව්‍යවහාර කරන භාග්‍යවත් බුදුරදුන්ගේ ව්‍යවහාරය ලෞකික වෙයි. ලොකොත්තරධර්මය ව්‍යවහාර කරන බුදුරදුන්ගේ ව්‍යවහාරය ලොකොත්තර වෙයි.

**20.** ස. පු: ලෞකිකධර්මය ව්‍යවහාර කරන භාග්‍යවත් බුදුරදුන්ගේ ව්‍යවහාරය ලෞකික වේ ද, ලොකොත්තරධර්මය ව්‍යවහාර කරන බුදුරදුන්ගේ ව්‍යවහාරය ලොකොත්තර වේ ද?

ප. පටිඤ්ඤා: එසේ යෑ.

ස. අනු: මාර්ගය ව්‍යවහාර කරන බුදුරදුන්ගේ ව්‍යවහාරය මාර්ග වේ ද, අමාර්ගය ව්‍යවහාර කරන බුදුරදුන්ගේ ව්‍යවහාරය අමාර්ග වේ ද, ඵලය ව්‍යවහාර කරන බුදුරදුන්ගේ ව්‍යවහාරය ඵල වේ ද, අඵලය ව්‍යවහාර කරන බුදුරදුන්ගේ ව්‍යවහාරය අඵල වේ ද, නිර්වාණය ව්‍යවහාර කරන බුදුරදුන්ගේ ව්‍යවහාරය නිර්වාණ වේ ද, අනිර්වාණය ව්‍යවහාර කරන බුදුරදුන්ගේ ව්‍යවහාරය අනිර්වාණ වේ ද, සංඛතය ව්‍යවහාර කරන බුදුරදුන්ගේ ව්‍යහාරය සංඛතවේ ද, අසංඛතය ව්‍යවහාර කරන බුදුරදුන්ගේ ව්‍යවහාරය අසංඛත වේ ද, රූපය ව්‍යවහාර කරන බුදුරදුන්ගේ ව්‍යවහාරය රූප වේ ද, අරූපය ව්‍යවහාර කරන බුදුරදුන්ගේ ව්‍යවහාරය අරූප වේ ද, වෙදනාව ව්‍යවහාර කරන බුදුරදුන්ගේ ව්‍යවහාරය වෙදනා වේ ද, අවෙදනාව ව්‍යවහාර කරන බුදුරදුන්ගේ ව්‍යවහාරය අවෙදනා වේ ද, සංඥව ව්‍යවහාර කරන බුදුරදුන්ගේ ව්‍යවහාරය සංඥ වේ ද, අසංඥව ව්‍යවහාර කරන බුදුරදුන්ගේ ව්‍යවහාරය අසංඥ වේ ද, සංස්කාර ව්‍යවහාර කරන බුදුරදුන්ගේ ව්‍යවහාරය සංස්කාර වේ ද, අසංස්කාර ව්‍යවහාර කරන බුදුරදුන්ගේ ව්‍යවහාරය අසංස්කාර වේ ද, විඥනය ව්‍යවහාර කරන බුදුරදුන්ගේ ව්‍යවහාරය විඥන වේ ද, අවිඥනය ව්‍යවහාර කරන බුදුරදුන්ගේ ව්‍යවහාරය අවිඥන වේ ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යෑ ...

**වොහාරකථා නිමි.**

## 2. 11.

# නිරොධකථා

**1.** ස. පු: ද්වෙ නිරොධා'ති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

ස. අනු: ද්වෙ දුක්ඛනිරොධාති.

ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

**2.** ස. පු: ද්වෙ දුක්ඛනිරොධාති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

ස. අනු: ද්වෙ නිරොධසච්චානීති.

ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

**3.** ස. පු: ද්වෙ නිරොධසච්චානීති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

ස. අනු: ද්වෙ දුක්ඛසච්චානීති.

ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

**4.** ස. පු: ද්වෙ නිරොධසච්චානීති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

ස. අනු: ද්වෙ සමුදයසච්චානීති.

ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

**5.** ස. පු: ද්වෙ නිරොධසච්චානීති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

ස. අනු: ද්වෙ මග්ගසච්චානීති.

ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

## 2. 11.

# නිරෝධකථා

**['අප්පටිසංඛානිරෝධය' හා 'පටිසංඛානිරෝධය' හා දෙක එක් කොට ගෙන 'නිරෝධසත්‍යය නම් මේ' යයි ගත් ලබ්ධියෙක් ඇත. මහිංසාසක අන්ධක නිකායවාසීන්ගේ සෙයිනි. ඒ වාද බිඳුනට නිරෝධකථා එයි.]**

**1.** ස. පු: නිරෝධයෝ දෙදෙනෙක් ඇද්ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: දුඃඛනිරෝධයෝ දෙදෙනෙක් ඇද්ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

**2.** ස. පු: දුඃඛනිරෝධයෝ දෙදෙනෙක් ඇද්ද?

ප. පටිඤ්ඤා: එසේ යැ. (දෙඅයුරෙකින් දුඃඛනිරෝධ වන හෙයිනි.)

ස. අනු: නිරෝධසත්‍යයෝ දෙදෙනෙක් ඇද්ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

**3.** ස. පු: නිරෝධසත්‍යයෝ දෙදෙනෙක් ඇද්ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: දුඃඛසත්‍යයෝ දෙදෙනෙක් ඇද්ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

**4.** ස. පු: නිරෝධසත්‍යයෝ දෙදෙනෙක් ඇද්ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: සමුදයසත්‍යයෝ දෙදෙනෙක් ඇද්ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

**5.** ස. පු: නිරෝධසත්‍යයෝ දෙදෙනෙක් ඇද්ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: මාර්ගසත්‍යයෝ දෙදෙනෙක් ඇද්ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

**6.** ස. පු: ද්වෙ නිරොධසච්චානීති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

ස. අනු: ද්වෙ තාණානි -පෙ- ද්වෙ ලෙණානි -පෙ- ද්වෙ සරණානි -පෙ- ද්වෙ පරායනානි -පෙ- ද්වෙ අච්චුතානි -පෙ- ද්වෙ අමතානි -පෙ- ද්වෙ නිබ්බානානීති.

ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

**7.** ස. පු: ද්වෙ නිබ්බානානී'ති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

ස. අනු: අත්ථි ද්වින්නං නිබ්බානානං උච්චනීචතා, හීනප්පණීතතා, උක්කංසාවකංසො, සීමා වා හෙදෙ, වා, රාජි වා අන්තරිකා වාති.

ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

**8.** ස. පු: ද්වෙ නිරොධාති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

ස. අනු: නනු අප්පටිසඞ්ඛානිරුද්ධෙ සඞ්ඛාරෙ පටිසඞ්ඛා නිරොධෙන්තී'ති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

අනු. ඨ: හඤ්චි අප්පටිසඞ්ඛානිරුද්ධෙ සඞ්ඛාරෙ පටිසඞ්ඛා නිරොධෙන්ති,

අනු. පා: නො ච වත රෙ වත්තබ්බෙ 'ද්වෙ නිරොධා'ති.

**9.** ප. පු: න වත්තබ්බං ද්වෙ නිරොධාති.

ස. පටිඤ්ඤා: ආමන්තා.

ප. අනු: නනු අප්පටිසඞ්ඛානිරුද්ධාපි සඞ්ඛාරා අච්චන්තභග්ගා, පටිසඞ්ඛානිරුද්ධාපි සඞ්ඛාරා අච්චන්තභග්ගාති.

ස. පටිඤ්ඤා: ආමන්තා.

අනු. ඨ: හඤ්චි අප්පටිසඞ්ඛානිරුද්ධාපි සඞ්ඛාරා අච්චන්තභග්ගා, පටිසඞ්ඛානිරුද්ධාපි සඞ්ඛාරා අච්චන්තභග්ගා,

අනු. පා: තෙන වත රෙ වත්තබ්බෙ 'ද්වෙ නිරොධා'ති.

**6.** ස. පු: නිරෝධසත්‍යයෝ දෙදෙනෙක් ඇද්ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: ත්‍රාණයෝ දෙදෙනෙක් ඇද්ද ... නිලීයනස්ථානයෝ දෙදෙනෙක් ඇද්ද ... සරණයෝ දෙදෙනෙක් ඇද්ද ... පරායණයෝ දෙදෙනෙක් ඇද්ද ... අච්‍යුතයෝ දෙදෙනෙක් ඇද්ද ... අමෘතයෝ දෙදෙනෙක් ඇද්ද .. නිර්වාණයෝ දෙදෙනෙක් ඇද්ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

**7.** ස. පු: නිර්වාණයෝ දෙදෙනෙක් ඇද්ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: නිර්වාණයන් දෙදෙනාගේ උච්චනීචතායෙක් හෝ හීනප්‍රණීතතායෙක් හෝ උත්කර්ෂාපකර්ෂයෙක් හෝ සීමායෙක් හෝ භේදයෙක් හෝ රාජියෙක් හෝ අන්තරිකායෙක් හෝ ඇද්ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

**8.** ස. පු: නිරෝධයෝ දෙදෙනෙක් ඇද්ද?

ප. පටිඤ්ඤා: එසේ යැ.

ස. අනු: අප්‍රතිසංඛ්‍යානයෙන් නිරුද්ධ වූ (සමුදාචරණ නැති පමණින් නිරුද්ධ යයි ගන්නා) සංස්කාරයන් ප්‍රතිසංඛ්‍යාන සඞ්ඛ්‍යාත ලෝකෝත්තර ඥානයෙන් (ඒකාන්තයෙන්) නිරුද්ධ කෙරෙත් (අනුත්පත්ති යට පමුණුවත්) නු?

ප. පටිඤ්ඤා: එසේ යැ.

අනු. ඨා: ඉදින් අප්‍රතිසංඛ්‍යාන නිරුද්ධ සංස්කාරයන් ප්‍රති-සංඛ්‍යානයෙන් මැ නිරුද්ධ කෙරෙත් නම්,

අනු. පා: භවත, නිරෝධයෝ දෙදෙනෙකැයි නො කියැයුතු මැ යැ.

**9.** ප. පු: නිරෝධයෝ දෙදෙනෙකැයි නො කියැයුතු ද?

ස. පටිඤ්ඤා: එසේ යැ.

ප. අනු: අප්‍රතිසංඛ්‍යාන නිරුද්ධ වූත් සංස්කාරයෝ අත්‍යන්ත භග්න වූවාහු නො ද? ප්‍රතිසංඛ්‍යාන නිරුද්ධ වූත් සංස්කාරයෝ අත්‍යන්ත භග්න වූවාහු නො ද?

ස. පටිඤ්ඤා: එසේ යැ.

අනු. ඨා: ඉදින් අප්‍රතිසංඛ්‍යානනිරුද්ධ වූත් සංස්කාරයෝ අත්‍යන්තභග්න වෙත් නම්, ප්‍රතිසංඛ්‍යාන නිරුද්ධ වූත් සංස්කාරයෝ අත්‍යන්තභග්න වෙත් නම්,

අනු. පා: භවත, එ කරුණින් 'නිරෝධයෝ දෙදෙනෙකි'යි කියැයුතු මැ යැ.

**10.** ස. පු: ද්වෙව නිරොධාති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

ස. අනු: පටිසඞ්ඛානිරුද්ධාපි සඞ්ඛාරා අරියමග්ගං ආගම්ම නිරුද්ධාති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

ස. අනු: අප්පටිසඞ්ඛානිරුද්ධාපි සඞ්ඛාරා අරියමග්ගං ආගම්ම නිරුද්ධාති.

ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

**11.** ස. පු: ද්වෙ නිරොධාති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

ස. අනු: පටිසඞ්ඛානිරුද්ධා සඞ්ඛාරා න පුන උප්පජ්ජන්තීති.

ප. පටිඤ්ඤා: ආමන්තා.

ස. අනු: අප්පටිසඞ්ඛානිරුද්ධා සඞ්ඛාරා න පුන උප්පජ්ජන්තීති

ප. පටි: න හෙවං වත්තබ්බෙ -පෙ-

අනු. පං: තෙන හි න වත්තබ්බං: ද්වෙ නිරොධාති.

**නිරොධකථා නිට්ඨිතා.**

**දුතියො වග්ගො නිට්ඨිතො.**

තස්සුද්දානං:

පරූපහාරො අඤ්ඤාණං
කඞ්ඛා පරවිතරණා
වචීභෙදො දුක්ඛාහාරො
චිත්තට්ඨිති ච කුක්කුළා
එකාභිසමයො චෙව
වොහාරො ච නිරොධකොති.

**10.** ස. පු: නිරොධයෝ දෙදෙනෙක් ඇද්ද?

ප. පටිඤ්ඤ: එසේ යැ.

ස. අනු: ප්‍රතිසංඛ්‍යානනිරුද්ධ වූත් සංස්කාරයෝ අරිමඟට පැමිණ නිරුද්ධ වෙත් ද?

ප. පටිඤ්ඤ: එසේ යැ.

ස. අනු: අප්‍රතිසංඛ්‍යානනිරුද්ධ සංස්කාරයෝ ආයසීමාගීයට පැමිණ නිරුද්ධ වෙත් ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

**11.** ස. පු: නිරොධයෝ දෙදෙනෙක් ඇද්ද?

ප. පටිඤ්ඤ: එසේ යැ.

ස. අනු: ප්‍රතිසංඛ්‍යාන නිරුද්ධ සංස්කාරයෝ යළි නූපදනාහු වෙත් ද?

ප. පටිඤ්ඤ: එසේ යැ.

ස. අනු: අප්‍රතිසංඛ්‍යානනිරුද්ධ සංස්කාරයෝ යළි නූපදනාහු වෙත් ද?

ප. පටි: එසේ නො කියැයුතු මැ යැ ...

අනු. පා: එ කරුණින් 'නිරොධයෝ දෙදෙනෙති'යි නො කියැයුතු මැ යැ.

**නිරොධකථා නිමි.**

**දුතියවග්ග නිමි.**

**එහි උද්දාන:**

පරූපහාරකථා යැ, අඤ්ඤාණකථා යැ, කඞ්ඛාකථා යැ, පරවිතරණකථා යැ, වචීභෙදකථා යැ, දුක්ඛාහාරකථා යැ, චිත්තට්ඨිතිකථා යැ, කුක්කුළකථා යැ, එකාභිසමයකථා යැ, වොහාරකථා යැ, නිරොධකථා යැ යි එකාදසකථායෙකි.

# I

## ආහටසුත්තනිතානුක්කමණිකා

පිට්ඨඞ්කානි

**පිටකට්ඨකානි**

# II

## සඤ්ඤානාමානුක්කමණිකා

# III

# පදානුක්කමණිකා